කුඹුරෙන් ද, දකුණට : විජේරත්න උරුමකම් කියන කුඹුර සහ ලොට් 4න් සහ බස්නාහිරට : ලොට් 5න් ද මායිම් වූ එකී අංක 1402 පිඹුර ප්‍රකාරව අක්කර එකයි රූඩ් එකයි පර්චස් තිස් හතයි දශම තුනයි බිංදුව (අ. 01, රූ. 01, පර්. 37.30) ක විශාලත්වයෙන් වූ ගොඩනැගිලි සමග එහි පිහිටි අනෙකුත් සියලුම දේත් සමග යුක්ත වේ.

4. බස්නාහිර පළාතේ, ගම්පහ දිස්ත්‍රික්කයේ, අළුත්කුරු කෝරලේ, රාගම් පත්තුවේ, ජාඇල ප්‍රාදේශීය සභා සීමාව තුළ ජා-ඇල ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයේ 205බී මහවත්ත ග්‍රාම නිලධාරි කොට්ඨාසයේ කොටුගොඩ ගමේ සහ ඒකල හි පිහිටි මිනුවන්ගොඩ පාරේ වරිපනම් අංක 350/6 සහ 350/7 දරන කෙල්මිස්සරාටෝ එස්ටේට් නමැති ඉඩමට බලයලත් මිනින්දෝරු කේ. ඊ. ජේ. බී. පෙරේරා විසින් 2005 අප්‍රේල් මස 04 වැනි දින මැන සාදන ලද අංක 8546 දරන පිඹුරෙන් බෙද වෙන්කරන ලොට් 5සී වශයෙන් දැක්වෙන ඉඩම් කොටසට මායිම් වශයෙන්, උතුරට : අංක 8545 දරන පිඹුරේ ලොට් 5ඒ අඩි 20ක පාරක් සඳහා වෙන් කරන ලද පාර සහ ලොට් 5බී වලින් ද, නැගෙනහිරට : විජේරත්නගේ උරුමකරුවන්ගේ කුඹුර සහ කේ. මෛත්‍රීපාල සිල්වාගේ කුඹුරෙන් ද, දකුණට : කේ. මෛත්‍රීපාල සිල්වාගේ කුඹුර සහ කේ. මර්ලින් සිල්වාගේ ඉඩමෙන් ද සහ බස්නාහිරට : එන්. පියසේන, වසන්ත ද සිල්වා. ඩබ්ලිව්. පබ්ලිස් සිල්වා, එම්. සලමන් සිල්වා සහ කේ. මර්ලින් සිල්වාගේ ඉඩම්වලින් ද මායිම් වූ එකී අංක 8546 දරන පිඹුර ප්‍රකාරව රූඩ් තුනයි පර්චස් තිස් තුන (අ. 0, රූ. 03, පර්. 33) ක විශාලත්වයෙන් වූ ගොඩනැගිලි සමග එහි පිහිටි අනෙකුත් සියලුම දේත් සමඟ යුක්ත වන මෙය ගම්පහ දිස්ත්‍රික් ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ පත්ඉරුව ජේ 388/107 යටතේ ලියාපදිංචි කර ඇත.

බලයලත් මිනින්දෝරු පී. එෆ්. එස්. පෙරේරා විසින් මෑතකදී කරන ලද මැනීමකින් පසු 2016 නොවැම්බර් 10 වැනි දින සාදන ලද අංක 1402 දරන පිඹුරේ හි මෙම ඉඩම පහත සඳහන් පරිදි විස්තර වේ.

බස්නාහිර පළාතේ, ගම්පහ දිස්ත්‍රික්කයේ, අළුත්කුරු කෝරලේ, රාගම් පත්තුවේ, ජා-ඇල ප්‍රාදේශීය සභා සීමාව තුළ ජා-ඇල ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයේ, 205බී මහවත්ත ග්‍රාම නිලධාරි කොට්ඨාසයේ, කොටුගොඩ ගමේ සහ ඒකල හි පිහිටි මිනුවන්ගොඩ පාරේ වරිපනම් අංක 350/6 සහ 350/7 දරන කෙල්මිස්සරාටෝ එස්ටේට් නැමති ඉඩම මැන සාදන ලද අංක 1402 දරන පිඹුරෙන් බෙද වෙන්කරන ලොට් 4 වශයෙන් දැක්වෙන ඉඩම් කොටසට මායිම් වශයෙන් උතුරට : ලොට් 5 සහ 3න් ද, නැගෙනහිරට : ලොට් 3 සහ විජේරත්න සහ කේ. මෛත්‍රීපාල සිල්වාගේ කුඹුරුවලින් ද, දකුණට : විජේරත්න සහ කේ. මෛත්‍රීපාල සිල්වාගේ කුඹුරෙන් ද, බස්නාහිරට : කේ. මර්ලින් සිල්වා. එම්. ටී. සිරිසෝම සිල්වා සහ අනිකුත් අය, ජේ. ඩී. එන්. ජයතිලක (අංක 7177 ද පිඹුරේ ලොට් බී) වසන්ත ද සිල්වා සහ අනිකුත් අය සහ එන් පියසේන සහ අනිකුත් අයගේ ඉඩමෙන්ද මායිම් වූ එකී අංක 1402 පිඹුර ප්‍රකාරව රූඩ් තුනයි පර්චස් තිස්තුන (අ. 0, රූ. 03, පර්. 33) ක විශාලත්වයෙන් වූ ගොඩනැගිලි සමඟ එහි පිහිටි අනෙකුත් සියලුම දේත් සමඟ යුක්ත වේ.

**ඉහත සඳහන් කළ උපලේඛනය**

1. බස්නාහිර පළාතේ, ගම්පහ දිස්ත්‍රික්කයේ, අලුත්කුරු කෝරලේ, රාගම් පත්තුවේ, ජා-ඇල ප්‍රාදේශීය සභාසීමාව තුළ ජා-ඇල ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයේ, 205බී මහවත්ත ග්‍රාම නිලධාරි කොට්ඨාසයේ කොටුගොඩ ගමේ සහ ඒකල පිහිටි කෙල්මිස්සරාටෝ එස්ටේට් නැමති ඉඩමට බලයලත් මිනින්දෝරු කේ. ඊ. ජේ. බී. පෙරේරා විසින් 2005 අප්‍රේල් මස 04 වැනි දින මැන සාදන ලද අංක 8545 දරන පිඹුරෙන් බෙද වෙන්කරන ලොට් 5ඒ (වෙන්කරන ලද අඩි 20 පළල පාර) වශයෙන් දැක්වෙන ඉඩම් කොටසට මායිම් වශයෙන් උතුරට : මෙම ඉඩමේම ලොට් 1 අඩි 20ක් පළල පාරෙන් ද, නැගෙනහිරට : ලොට් 5බී සහ ලොට් 5හි ඉතිරි කොටසෙන් ද, දකුණට : ලොට් 5 හි ඉතිරි කොටසෙන් ද, බස්නාහිරට : එන්. පියසේන. ඩබ්ලිව් විල්බට් සිල්වා, සරත් චන්ද්‍ර සිල්වා සහ ටී. ටී. සිල්වාගේ ඉඩම් වලින් ද මායිම් වූ එකී අංක 8546 දරන පිඹුර ප්‍රකාරව පර්චස් විසි හතරයි දශම එක (අ. 0, රූ. 0, පර්. 24.1) ක විශාලත්වයෙන් යුක්ත වන මෙය ගම්පහ දිස්ත්‍රික් ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ පත්ඉරුව ජේ. 326/49 යටතේ ලියාපදිංචි කර ඇත.

2. බස්නාහිර පළාතේ, ගම්පහ දිස්ත්‍රික්කයේ, අළුත්කුරු කෝරලේ, රාගම් පත්තුවේ, ජා-ඇල ප්‍රාදේශීය සභා සීමාව තුළ ජා-ඇල ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයේ, 205බී මහවත්ත ග්‍රාම නිලධාරි කොට්ඨාසයේ කොටුගොඩ ගමේ සහ ඒකල හි පිහිටි කෙල්මිස්සරාටෝ එස්ටේට් නැමති ඉඩමට බලයලත් මිනින්දෝරු කේ. ඊ. ජේ. බී. පෙරේරා විසින් 1996 ජනවාරි මස 09 වැනි දින මැන සාදන ලද අංක 4309 දරන පිඹුරෙන් බෙද වෙන්කරන ලොට් 1 (පාර සඳහා වෙන් කරන ලද) වශයෙන් දැක්වෙන ඉඩම් කොටසට මායිම් වශයෙන් උතුරට : මිනුවන්ගොඩ පාරෙන් ද, නැගෙනහිරට : ලොට් 2 සහ ලොට් 3 සහ ලොට් 4න් ද, දකුණට : ලොට් 5න් ද, බස්නාහිරට 9 ඩබ්. හේරත් සිල්වාගේ ඉඩම. සෝමාවති පෙරේරාගේ ඉඩම. ඒ. සනී සිල්වාගේ ඉඩම සහ ටී. ටී. සිල්වාගේ ඉඩමෙන් ද මායිම් වූ එකී අංක 4309 දරන පිඹුර ප්‍රකාරව රූඩ් එකයි පර්චස් බිංදුවයි දශම තුනක (අ. 0, රූ. 1, පර්. 03) විශාලාත්වයෙන් යුක්ත වන මෙය ගම්පහ දිස්ත්‍රික් ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ පත්ඉරුව ජේ. 326/48 යටතේ ලියාපදිංචි කර ඇත.

අධ්‍යක්ෂ මණ්ඩලයේ අණ පරිදි,

කේ. ඒ. එල්. ටී. රණවීර,
නියෝජ්‍ය සාමාන්‍යාධිකාරිණි (නීති),
මාණ්ඩලික ලේකම්.

01 - 572/7

---

**සෙලාන් බැංකුව පීඑල්සී - පැල්මඩුල්ල ශාඛාව**

2007 අංක 07 දරන සමාගම් පනත අනුව යොමුව පීකිවු 9 යටතේ ලියාපදිංචි කර ඇත.

1990 අංක 4 දරන බැංකු මගින් ප්‍රදානය කරන ලද ණය අයකර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනතේ 4 වැනි වගන්තිය යටතේ සෙලාන් බැංකුව පීඑල්සී අධ්‍යක්ෂ මණ්ඩලය විසින් සම්මත කර ගන්නා ලද යෝජනාව.

සෙලාන් බැංකුව පීඑල්සී අධ්‍යක්ෂ මණ්ඩලය විසින් 2017.11.27 වැනි දින පවත්වන්නට යෙදුනු රැස්වීමේදී, 1990 අංක 4 දරන බැංකු මගින් ප්‍රදානය කරන ලද ණය අයකර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනතේ

8 වන වගන්තිය යටතේ විශේෂයෙන් සහ ඒකමතිකව පහත සඳහන් අයුරු සම්මත කර ගන්නා ලද බව මෙයින් නිවේදනය කරනු ලැබේ.

ගිණුම් අංකය : 0900-01774602-001.

සෙලාන් බැංකුව පීඑල්සී නමට ලියන ලද (2007 අංක 07 දරන සමාගම් පනත යටතේ යොමු අංක පීකිව් 9 යටතේ ලියාපදිංචි කර ඇත) ප්‍රසිද්ධ නොතාරිස් නිරෝෂන් රණසිංහ බණ්ඩාර විසින් සහතික කරන ලද 2012 ජුනි 13 දිනැති අංක 1413 දරන බැඳුම්කරය මත අයවිය යුතු මුදල් ගෙවීම, පැල්මඩුල්ල පදිංචි වක්කුඹුර කංකානමලාගේ චරිත් හසින්ත වක්කුඹුර යන අය බන්ධනදයී වශයෙන් රුපියල් හැටපන්ලක්ෂ අසූඑක් දහස් පන්සිය විස්සයි ශත අසූ නවයක (රු. 6,581,520.89) මුදලක්, 2017 ජුනි මස 21 වැනි දින වන විට එකී බැඳුම්කරය මත සෙලාන් බැංකුව පීඑල්සී වෙත ලැබිය යුතුව සහ අයවිය යුතුව ඇති හෙයින් එකී රු. 6,581,520.89) ක මුදල අයිරා අණකර පහසුකම මත 2017 ජුනි මස 22 වැනි දින සිට වර්ෂයකට සියයට විසි අට (28%) බැගින් විකිණීමේ දිනය දක්වා කාලයට පොළිය සමග ප්‍රසිද්ධ කිරීමේ වියදම් සහ දරන්නට සිදුවූ වෙනත් ගාස්තුද තදනන්තරව ලැබී ඇති යම් මුදලක් ඇත්නම් එම මුදල අඩුකර අයකර ගැනීම පිණිස ඉහත කී අංක 1413 දරන බැඳුම්කරය මගින් සෙලාන් බැංකුව පීඑල්සී වෙත උකස් කර ඇත්තාවූ මෙහි පහත සඳහන් උපලේඛනයේ සවිස්තරව විස්තර කර ඇති දේපළ සහ පරිශ්‍රයන් බලයලත් වෙන්දේසිකාර තුසිත කරුණාරත්න මහතා විසින් ප්‍රසිද්ධ වෙන්දේසියේ විකිණිය යුතු බවට, 1990 අංක 4 දරන බැංකු මගින් ප්‍රදනය කරන ලද ණය අය කර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනත මගින් පැවරී ඇති බලතල අනුව සෙලාන් බැංකුව පීඑල්සී අධ්‍යක්ෂ මණ්ඩලය මෙයින් යෝජනා සම්මත කරනු ලැබේ.

### උපලේඛනය

සබරගමුව පළාතේ, රත්නපුර දිස්ත්‍රික්කයේ, නවදුන් කෝරළේ, උඩ පත්තුවේ, පැල්මඩුල්ල ප්‍රාදේශීය සභා පළාත් ලේකම් කාර්යාලය සහ ග්‍රාම සේවා කොට්ඨාසය තුළ පැල්මඩුල්ල ගමේ පිහිටි බලයලත් මිනින්දෝරු එම්. වර්ණසූරිය විසින් සාදන ලද 1998.10.02 දිනැති අංක 074 නිරූපනය වන රත්නපුර දිසා අධිකරණ අංක 5811/පී නඩුවට අනුව බණ්ඩාරවත්ත නමැති ඉඩමේ ලොට් 01 ලකුණු කල බෙද වෙන්කරන ලද ඉඩම් කොටසට මායිම්, උතුරට : පාර සහ දියගමගෙදර වත්ත ද, නැගෙනහිරට : එකී අංක 074 සැලැස්මේ ලොට් 2 ද, දකුණට : එකී අංක 074 සැලැස්මේ ලොට් 2 සහ මහා මාර්ගය සහ බස්නාහිරට පාර ද යන මායිම් තුළ පර්චස් තුනයි දශම පහක් (අ. 0, රූ. 0, පර්. 3.5) නොහොත් හෙක්ටයාර 0.0088ක් විශාල, ගොඩනැගිලි, සවිකිරීම්, ගස් වගා සහ එහි පිහිටි වෙනත් සියලු දේ සමග ඉඩම සහ එකී අංක 074 සැලැස්මේ ලකුණු කල පාර උඩින් සහ දිගේ මාර්ග අයිතිය සමග, ඉඩම.

අධ්‍යක්ෂ මණ්ඩලයේ අණ පරිදි,

කේ. හැව් මිය,
දෙපාර්තමේන්තු ප්‍රධානී - නීති.

01-583/1

---

## සෙලාන් බැංකුව පීඑල්සී - වැලිවේරිය ශාඛාව

2007 අංක 07 දරන සමාගම් පනත අනුව යොමුව පීකිවු 9 යටතේ ලියාපදිංචි කර ඇත.

### 1990 අංක 4 දරන බැංකු මගින් ප්‍රදනය කරන ලද ණය අයකර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනතේ 4 වන වගන්තිය යටතේ සෙලාන් බැංකුව පීඑල්සී අධ්‍යක්ෂ මණ්ඩලය විසින් සම්මත කර ගන්නා ලද යෝජනාව

සෙලාන් බැංකුව පීඑල්සී අධ්‍යක්ෂ මණ්ඩලය විසින් 2017.11.27 දින පවත්වන්නට යෙදුනු රැස්වීමේදී, 1990 අංක 4 දරන බැංකු මගින් ප්‍රදනය කරන ලද ණය අයකර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනතේ 8 වන වගන්තිය යටතේ විශේෂයෙන් සහ ඒකමතිකව පහත සඳහන් අයුරු සම්මත කර ගන්නා ලද බව මෙයින් නිවේදනය කරනු ලැබේ.

ගිණුම් අංකය : 0630-34460540-001.

සෙලාන් බැංකුව පීඑල්සී නමට ලියන ලද (2007 අංක 07 දරන සමාගම් පනත යටතේ යොමු අංක පීකිව් 9 යටතේ ලියාපදිංචි කර ඇත) ප්‍රසිද්ධ නොතාරිස් ඩබ්ලිව්. ඒ. ආර්. ජනක වෙල්ලප්පිලි විසින් සහතික කරන ලද 2015 ඔක්තෝබර් මස 09 දිනැති අංක 863 දරන බැඳුම්කරය මත අයවිය යුතු මුදල් ගෙවීම, කඩවත සිය ලියාපදිංචි අංක පීවී 79093 ඇති 2007 අංක 7 දරන සමාගම් පනත යටතේ යථා පරිදි සංස්ථාපිත සමාගමක් වන මේරියන්ස් ඉන්ටර්නැෂනල් (ප්‍රයිවට්) ලිමිටඩ් සහ කඳන පදිංචි හබරකඩ සේනාරත්නගේ අරුණි ලංකිකා පෙරේරා යන අය බන්ධනදයීන් වශයෙන් රුපියල් අසූ දෙලක්ෂ දහතුන් දහස් හතළිස් එකයි ශත දහයක (රු. 8,213,041.10) මුදලක්, 2017 ජූලි මස 25 වැනි දින වන වට එකී බැඳුම්කර මත සෙලාන් බැංකුව පීඑල්සී වෙත ලැබිය යුතුව සහ අයවිය යුතුව ඇති හෙයින් එකී රු. 8,213,041.10ක මුදල කේන්ද්‍රීය ආනයන ණය මත 2017 ජූලි මස 26 වැනි දින සිට වර්ෂයකට සියයට විස්ස (20%) බැගින් විකිණීමේ දිනය දක්වා කාලයට පොළිය සමග ප්‍රසිද්ධ කිරීමේ වියදම් සහ දරන්නට වෙනත් ගාස්තු ද, තදනන්තරව ලැබී ඇති යම් මුදලක් (ඇත්නම්) එම මුදල අඩුකර ගැනීම පිණිස ඉහතකී අංක 863 දරන බැඳුම්කරය මගින් සෙලාන් බැංකුව පීඑල්සී වෙත උකස් කර ඇත්තාවූ මෙහි පහත සඳහන් උපලේඛනයේ සවිස්තරව විස්තර කර ඇති දේපළ සහ පරිශ්‍රයන් බලයලත් වෙන්දේසිකාර තුසිත කරුණාරත්න මහතා විසින් ප්‍රසිද්ධ වෙන්දේසියේ විකිණිය යුතු බවට, 1990 අංක 4 දරන බැංකු මගින් ප්‍රදනය කරන ලද ණය අයකර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනත මගින් පැවරී ඇති බලතල අනුව සෙලාන් බැංකුව පීඑල්සී අධ්‍යක්ෂ මණ්ඩලය විසින් මෙයින් යෝජනා සම්මත කරනු ලැබේ.

### උපලේඛනය

බස්නාහිර පළාතේ, ගම්පහ ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලය තුළ ගම්පහ දිස්ත්‍රික්කයේ, සියනෑ කෝරළේ, මැද පත්තුවේ, මහර ප්‍රාදේශීය ලේකම්ගේ කොට්ඨාසය සහ ප්‍රාදේශීය සභා සීමාව තුල 289බී කිරිකිත්ත උතුර ග්‍රාම නිලධාරී කොට්ඨාසය තුළ කිරිකිත්ත ගමේ පිහිටි බලයලත් මිනින්දෝරු එල්. ජේ. ලියනගේ විසින් සාදන ලද 2006.12.14 දිනැති අංක 4422ඒ සැලැස්මේ නිරූපනය වන

මිල්ලගහවත්ත නමැති ඉඩමේ ලොට් 1බී ලකුණු කළ බෙද වෙන්කරන ලද ඉඩම් කොටසට මායිම්, උතුරට : ලොට් 1ඒ ද, නැගෙනහිරට : ලොට් 1ඩී ද, දකුණට : ලොට් 1සී සහ බස්නාහිරට : ලොට් 1සී සහ අළුත් මහනුවර පාර ද යන මායිම් තුළ රූඩ් එකක් පමණක් (අ. 0, රූ. 1, පර්. 0)ක් විශාල ගස්, වගා සහ එහි පිහිටි සියලු දේ සමග ඉඩම.

අධ්‍යක්‍ෂ මණ්ඩලයේ අණ පරිදි,

කේ. හැව් මිය,
දෙපාර්තමේන්තු ප්‍රධානි - නීති.

01 - 583/2

---

**සෙලාන් බැංකුව පීඑල්සී - අක්කරෙයිපත්තු ශාඛාව**

2007 අංක 07 දරන සමාගම් පනත අනුව යොමුව පීකිව් 9 යටතේ ලියාපදිංචි කර ඇත.

1990 අංක 4 දරන බැංකු මගින් ප්‍රදානය කරන ලද ණය අයකර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනතේ 4 වන වගන්තිය යටතේ සෙලාන් බැංකුව පීඑල්සී අධ්‍යක්‍ෂ මණ්ඩලය විසින් සම්මත කර ගන්නා ලද සම්මුතිය.

ගිණුම් අංකය : 1160-34402334-001.

සෙලාන් බැංකුව පීඑල්සී අධ්‍යක්‍ෂ මණ්ඩලය විසින් 2017.11.27 වැනි දින පවත්වන්නට යෙදුනු රැස්වීමේදී, 1990 අංක 4 දරන බැංකු මගින් ප්‍රදානය කරන ලද ණය අයකර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනතේ 8 වන වගන්තිය යටතේ විශේෂයෙන් සහ ඒකමතිකව පහත සඳහන් අයුරු සම්මත කර ගන්නා ලද බව මෙයින් නිවේදනය කරනු ලැබේ.

සෙලාන් බැංකුව පීඑල්සී නමට ලියන ලද (2007 අංක 07 දරන සමාගම් පනත යටතේ යොමු අංක පීකිව් 9 යටතේ ලියාපදිංචි කර ඇත) ප්‍රසිද්ධ නොතාරිස් එම්. කේ. පෙරින්පරාජා විසින් දෙකම සහතික කරන ලද 2016 මැයි මස 04 දිනැති අංක 3066 සහ 2016 ජුනි මස 08 දිනැති අංක 3095 දරන බැඳුම්කර මත අයවිය යුතු මුදල් ගෙවීම, අක්කරෙයිපත්තු පදිංචි මොහමඩ් ඉස්මයිල් මරිස් යන අය බන්ධනදායී වශයෙන් පැහැර හැර ඇතිහෙයින් එකී බැඳුම්කර යටතේ 2017 ජූලි මස 25 වැනි දින සිට වසරකට 28% බැගින් පොලිය සමග ස්ථිර අයිරා අණකර පහසුකම සම්බන්ධයෙන් රු. 7,255,794.35 ක මුදලක් සහ 2017 ජූලි මස 25 වැනි දින සිට රු. 5,000,000 මත වසරකට 17% බැගින් පොලිය සමග රු. 5,320,547.95 ක මුදලක් කෙටිකාලීන ණය පහසුකම සම්බන්ධයෙන් 2017 ජූලි මස 24 වැනි දින වන විට සෙලාන් බැංකුව පීඑල්සී වෙත ලැබිය යුතුව සහ අයවිය යුතුව ඇති හෙයින්ද එකී මුළු මුදල වන රුපියල් එක් කෝටි විසිපන් ලක්‍ෂ හැත්තෑහය දහස් තුන්සිය හතළිස් දෙකයි ශත තිහක (රු. 12,576,342.30) (ස්ථිර අයිරා අණකර + කෙටිකාලීන ණය සම්පූර්ණ හිඟ මුදල) පෙරකී පොලිය සමග ප්‍රසිද්ධ කිරීමේ වියදම්, දරන්නට යෙදුනු වෙනත් ගාස්තුද තදනන්තරව ලැබී ඇති යම් මුදලක් (ඇත්නම්) එම මුදල අඩුකර අයකර ගැනීම පිණිස ඉහත කී අංක 3066 සහ 3095 දරන එකී බැඳුම්කර මගින් සෙලාන් බැංකුව පීඑල්සී වෙත උකස්කර ඇත්තාවූ මෙහි සඳහන් උපලේඛනයේ සවිස්තරව විස්තර කර ඇති දේපළ බලයලත් වෙන්දේසිකාර තුසිත කරුණාරත්න මහතා විසින් ප්‍රසිද්ධ වෙන්දේසියේ විකිණිය යුතු බවට, 1990 අංක 4 දරන බැංකු මගින් ප්‍රදානය කරන ලද ණය අය කර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනත මගින් පැවරී ඇති බලතල අනුව සෙලාන් බැංකුව පීඑල්සී අධ්‍යක්‍ෂ මණ්ඩලය විසින් මෙයින් යෝජනා සම්මත කරනු ලැබේ.

**පළමුවැනි උපලේඛනය**

නැගෙනහිර පළාතේ, අම්පාර දිස්ත්‍රික්කයේ, අක්කරෙයිපත්තු අලයාඩිගෙම්බු ප්‍රාදේශීය ලේකම් කාර්යාල සහ ප්‍රාදේශීය සභා සීමාව තුළ 09 කරුන්කෝඩිතිවු ග්‍රාම සේවා නිලධාරි කොට්ඨාසයේ 09 කරුන්කෝඩිතිවු පිහිටි බලයලත් මිනින්දෝරු ඒ. ඒ. මොහමඩ් ටස්ලීම් විසින් සාදන ලද 2014.02.17 දිනැති අංක ටී/1890 මිනුම් සැලැස්ම අනුව රූඩ් දෙකයි පර්චස් එකොළහයි දශම හතක් (අ. 0, රූ. 2, පර්. 11.7)ක් විශාල මොහයිදීන් සාතුක්කම් නමැති ඉඩමේ ලොට් අංක 1 සහ ලොට් අංක 2ට මායිම් : උතුරට : පුද්ගලික පාර, නැගෙනහිරට : මහා මාර්ගය, දකුණට : ඒ. එච්. මූසිම් සහ ඒ. එච්. එකීන්ට හිමි හාල් මෝල ඇති ඉඩම ද, බස්නාහිරට : ඒ. එච්. මූසිම් සහ ඒ. එච්. එකීන්ට හිමි ඉඩම ද යන මායිම් තුළ සියලු දේ සමග ඉඩම. මෙය කල්මුණේ ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ කාණ්ඩය/පත්‍රිරුව පී 16/117 හි ලියාපදිංචි කර ඇත.

මෙය බලයලත් මිනින්දෝරු ඒ. ඒ. මොහමඩ් තස්ලීම් විසින් සාදන ලද 2016.03.21 දිනැති අංක ටී/2253 දරන මෑතක මිනුම් සැලැස්මක් අනුව පහත සඳහන් පරිදි විස්තර කර ඇත.

නැගෙනහිර පළාතේ අම්පාර දිස්ත්‍රික්කයේ අක්කරෙයිපත්තු අලයාඩිගෙම්බු ප්‍රාදේශීය ලේකම් කාර්යාල සහ ප්‍රාදේශීය සභා සීමාව තුළ 09 අක්කරෙයිපත්තු ග්‍රාම සේවා නිලධාරි කොට්ඨාසයේ 09 අක්කරෙයිපත්තු මොහයිදීන් චතුරස්‍රයේ පිහිටි අංක ටී/1890 සැලැස්මෙහි ලොට්ස් 1 සහ 2 හි නැවත මැනීමක් වන රූඩ් දෙකයි පර්චස් එකොළහයි දශම හතක් (අ. 0, රූ. 2, පර්. 11.7)ක් නොහොත් හෙක්ටයාර 0.2320 ක් විශාල ලොට්ස් ඒ සහ බී ලෙස ලකුණු කළ ඉඩම් කොටස් දෙකට මායිම්, උතුරට : පුද්ගලික පාර සහ පාර (ආර්ඩීඒ), නැගෙනහිරට : පාර, දකුණට : ඒ. එච්. මූසිම් සහ ඒ. එච්. එකීන්ට හිමි හාල් මෝල ඇති ඉඩම ද, බස්නාහිරට : ඒ. එච්. මූසිම් සහ ඒ. එච්. එකීන් හිමිකම් කියනු ලබන ඉඩම් ද වේ.

උපලේඛනයේ විස්තර කරන ලද දේපළවල අවම මිල රු. 22,000,000 වශයෙන් නියම කරන ලද බව මෙයින් සම්මත කරන ලදී.

ඉහත සඳහන් අධ්‍යක්ෂ මණ්ඩල යෝජනාව ප්‍රසිද්ධ කරන අවස්ථාවේදී සෙලාන් බැංකුව පීඑල්සී හි නීති නිලධාරි, නීති ප්‍රධානී කේ. හැව් මියට අත්සන් කිරීමට බලය දියයුතු බවට තවදුරටත් සම්මත කරන ලදී.

අධ්‍යක්ෂ මණ්ඩලයේ අණ පරිදි,

කේ. හැව් මිය.
දෙපාර්තමේන්තු ප්‍රධානි - නීති.

01 - 583/3

---

**සීමාසහිත සෙලාන් බැංකුව - ගාල්ල ශාඛාව**

1990 අංක 4 දරන බැංකු මගින් ප්‍රදානය කරන ලද ණය අයකර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනතේ 4 වන වගන්තිය යටතේ සෙලාන් බැංකුව පීඑල්සී අධ්‍යක්ෂ මණ්ඩලය විසින් සම්මත කර ගන්නා ලද යෝජනාව.

ගිණුම් අංකය : 0160-12730573-001.

සෙලාන් බැංකුව පීඑල්සී අධ්‍යක්ෂ මණ්ඩලය විසින් 2017.11.27 වැනි දින පවත්වන්නට යෙදුනු රැස්වීමේදී, 1990 අංක 4 දරන බැංකු මගින් ප්‍රදනය කරන ලද ණය අයකර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනතේ 8 වන වගන්තිය යටතේ විශේෂයෙන් සහ ඒකමතිකව පහත සඳහන් අයුරු සම්මත කර ගන්නා ලද බව මෙයින් නිවේදනය කරනු ලැබේ.

සෙලාන් බැංකුව පීඑල්සී නමට ලියන ලද (2007 අංක 07 දරන සමාගම් පනත යටතේ යොමු අංක පීකිව්9 යටතේ ලියාපදිංචි කර ඇත) ප්‍රසිද්ධ නොතාරිස් ඩබ්ලිව්. දසිතා ප්‍රියන්ති මෙය/මිය විසින් සියල්ල සහතික කරන ලද දෙකම 2016.10.26 දිනැති අංක 1309 සහ 1311 දරන බැඳුම්කර මත අයවිය යුතු මුදල් ගෙවීම, ගාල්ල පදිංචි කිත්සිරි කාරියවසම් පරණවිතාන යන අය බන්ධනදයී වශයෙන් රු. 5,252,626.25 මුදලක් මත 2017 අගෝස්තු මස 24 වැනි දින සිට වසරකට 28% බැගින් පොලියක් සමග අයිරා අණකර පහසුකම සම්බන්ධයෙන් සහ රු. 23,831,279.30 මත 2017 අගෝස්තු 24 දින සිට වසරකට 19% බැගින් රු. 25,057,060.03 ක මුදලක් වාර ණය පහසුකම සම්බන්ධයෙන් එකී බැඳුම්කර මත 2017 අගෝස්තු මස 23 දින වන විට සෙලාන් බැංකුව පීඑල්සී වෙත දනට හිඟව සහ ලැබිය යුතුව ඇති හෙයින් එකී රුපියල් තුන්කෝටි තිස් ලක්ෂ නවදහස් හයසිය අසූහයයි ශත විසි අට (රු. 30,309,686.28) (අයිරා අණකර පහසුකම+වාර ණය පහසුකම මුළු හිඟ මුදල) පෙරකී පොලිය සමග ප්‍රසිද්ධ කිරීමේ වියදම් සහ දරන්නට යෙදුනු වෙනත් ගාස්තුද තදනන්තරව ලැබී ඇති යම් මුදලක් (ඇත්නම්) එම මුදල අඩුකර අයකර ගැනීම පිණිස ඉහත කී අංක 1309 සහ 1311 දරන එකී බැඳුම්කර මගින් සෙලාන් බැංකුව පීඑල්සී වෙත උකස් කර ඇත්තාවූ මෙහි පහත සඳහන් උපලේඛනවල සවිස්තරව විස්තර කර ඇති දේපල බලයලත් වෙන්දේසිකාර තුසිත කරුණාරත්න මහතා විසින් ප්‍රසිද්ධ වෙන්දේසියේ විකිණිය යුතු බවට 1990 අංක 4 දරන බැංකු මගින් ප්‍රදනය කරන ලද ණය අයකර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනත මගින් පැවරී ඇති බලතල අනුව සෙලාන් බැංකුව පීඑල්සී අධ්‍යක්ෂ මණ්ඩලය විසින් මෙයින් යෝජනා සම්මත කරනු ලැබේ.

**උපලේඛනය**

දකුණු පළාතේ, ගාල්ල දිස්ත්‍රික්කයේ, වැල්ලබඩ පත්තුවේ, හික්කඩුව ප්‍රාදේශීය ලේකම් කාර්යාල සහ නගර සභා සීමාව තුළ උඩුගල්පිටිය 51ඒ ග්‍රාම නිලධාරි කොට්ඨාසය තුල දෙඩන්දූව පිහිටි බලයලත් මිනින්දෝරු ආර්. පී. විජයසිංහ විසින් සාදන ලද 2016 ජනවාරි මස 14 දිනැති අංක 10/2016 දරන සැලැස්මේ නිරූපනය වන මිගෙල්රාලගේවත්ත හෙවත් සූරියගහවත්ත සහ මහමුදලිගේවත්තෙහි කොටසක ලොට් 1 නැමති ඉඩමේ ලොට් 1 ඒ හි නැවත මැනීමක් සහ අතුරු බෙදීමක් වන ලොට් එක්ස් ලකුණු කළ බෙද වෙන්කරන ලද ඉඩම් කොටසට මායිම්, ඊසානට : ගාල්ල සිට කොළඹ දක්වා මහා මාර්ගය ද, ගිණිකොණට : මිගෙල්රාලගේවත්ත හෙවත් සූරියගහවත්තෙහි ලොට් 2 ද, දකුණට : මෙම ඉඩමේ මිගෙල්රාලගේවත්ත හෙවත් සූරියගහවත්ත ලොට් වයි සහ මෙම ඉඩමේ කොටසක්ද (ෆේන්ගේ කුඹුර) සහ නිරිතට : මෙම ඉඩමේ ලොට් වයි සහ රජයට පවරාගත් මෙම ඉඩමේ කොටස යන මායිම් තුළ රූඩ් එකයි පර්චස් තිස්එකයි දශම පහයි හතක් (අ. 0, රූ. 01, පර්. 31.57) නොහොත් හෙක්ටයාර 0.1810 ක් විශාල, බිම, ගස්, වගා සහ එහි පිහිටි වෙනත් සියලු දේ සමග ඉඩම. මෙය ගාල්ල ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ කාණ්ඩය/පත්‍ඉරුව එල් 136/46හි ලියාපදිංචි කර ඇත.

එකී ඉඩම පහත සඳහන් ඉඩමේ නැවත මැනීමක් සහ අතුරු බෙදීමක් වේ.

දකුණු පළාතේ, ගාල්ල දිස්ත්‍රික්කයේ, වැල්ලබඩ පත්තුවේ හික්කඩුව ප්‍රාදේශීය ලේකම් කාර්යාල සහ නගර සභා සීමාව තුළ උඩුගල්පිටිය 51ඒ ග්‍රාම නිලධාරි කොට්ඨාසය තුල දෙඩන්දූව පිහිටි බලයලත් මිනින්දෝරු ආර්. එස්. විජේසේකර විසින් සාදන ලද 2010 මාර්තු මස 22 දිනැති අංක 2102 දරන සැලැස්මේ නිරූපනය වන මිගෙල්රාලගේවත්ත හෙවත් සූරියගහවත්ත සහ මහමුදලිගේවත්ත නමැති එකතුකළ ඉඩම්වල ලොට් 1හි ලොට් 1ඒ ලකුණු කළ බෙද වෙන් කරන ලද ඉඩම් කොටසට මායිම්, උතුරට : රජය විසින් පවරාගත් කොටස සහ ගාල්ල සිට කොළඹ දක්වා මහා මාර්ගය ද, නැගෙනහිරට : ගාල්ල සිට කොළඹ දක්වා මහා මාර්ගය සහ මිගෙල්රාලගේවත්ත හෙවත් සූරියගහවත්තෙහි ලොට් 2 ද, දකුණට : මිගෙල්රාලගේවත්ත හෙවත් සූරියගහවත්ත සහ මෙම ඉඩමේ කොටස (ෆේන්ගේ කුඹුර) සහ බස්නාහිරට : මෙම ඉඩමේ කොටස (ෆේන් ගේ කුඹුර) සහ රජයට පවරා ගත් මෙම ඉඩමේ කොටස යන මායිම් තුළ රූඩ් දෙකයි පර්චස් නවයයි දශම තුනයි පහක් (අ. 0, රූ. 02, පර්. 9.35) විශාල, බිම, ගස්, වගා සහ එහි පිහිටි වෙනත් සියලු දේ සමග ඉඩම. මෙය ගාල්ල ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ කාණ්ඩය/පත්‍ඉරුව එල් 22/135හි ලියාපදිංචි කර ඇත.

අධ්‍යක්ෂ මණ්ඩලයේ අණ පරිදි,

කෞෂල්‍යා. හැව් මිය.
දෙපාර්තමේන්තු ප්‍රධානී - නීති.

01 - 583/4

**සෙලාන් බැංකුව පීඑල්සී - වෙන්නප්පුව ශාඛාව**

2007 අංක 07 දරන සමාගම් පනත අනුව යොමුව පීකිවු 9 යටතේ ලියාපදිංචි කර ඇත.

1990 අංක 4 දරන බැංකු මගින් ප්‍රදානය කරන ලද ණය අයකර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනතේ 4 වන වගන්තිය යටතේ සෙලාන් බැංකුව පීඑල්සී අධ්‍යක්ෂ මණ්ඩලය විසින් සම්මත කර ගන්නා ලද සම්මුතිය

සෙලාන් බැංකුව පීඑල්සී අධ්‍යක්ෂ මණ්ඩලය විසින් 2017.11.27 වැනි දින පවත්වන්නට යෙදුනු රැස්වීමේදී, 1990 අංක 4 දරන බැංකු මගින් ප්‍රදනය කරන ලද ණය අයකර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනතේ 8 වන වගන්තිය යටතේ විශේෂයෙන් සහ ඒකමතිකව පහත සඳහන් අයුරු සම්මත කර ගන්නා ලද බව මෙයින් නිවේදනය කරනු ලැබේ.

ගිණුම් අංකය : 1600-35329288-001.

සෙලාන් බැංකුව පීඑල්සී නමට ලියන ලද (අංක 07 දරන සමාගම් පනත යටතේ යොමු අංක පීකිවි 9 යටතේ ලියාපදිංචි කර ඇත.) ප්‍රසිද්ධ නොතාරිස් ඊ. සචිනි පී. ගුණතුංග විසින් සහතික කරන ලද 2017.03.09 දිනැති අංක 46 දරන බැඳුම්කරය මත අයවිය යුතු මුදල් ගෙවීම, වෙන්නප්පුව පදිංචි විජේරත්න ආරච්චිගේ ජනන්ද හසරංග මැඩොන්සා ගුණසේකර යන අය බන්ධනදායී වශයෙන් රුපියල් එක්කෝටි පනස්පන් ලක්ෂ දහත්දහස් නවසිය පනස් හතරයි ශත තිස් හතරක (රු. 15,517,954.34) මුදලක් එකී බැඳුම්කරය මත 2017 ඔක්තෝබර් මස 02 වැනි දින වන විට සෙලාන් බැංකුව පීඑල්සී වෙත ලැබිය යුතුව සහ අයවිය යුතුව ඇතිහෙයින් ද, එකී මුදල් වන (රු. 15,517,954.34) මුදල 2017 ඔක්තෝබර් මස 03 වැනි දින සිට විකිණීමේ දිනය දක්වා කාලයට වසරකට සියයට දහසය (16%) බැගින් පොළිය සමග ප්‍රසිද්ධ කිරීමේ වියදම් සහ තදනන්තරව ලැබී ඇති යම්කිසි මුදලක් (ඇත්නම්) එකී මුදල අඩුකර අයකර ගැනීම පිණිස, එකී අංක 46 දරන බැඳුම්කරය මගින් සෙලාන් බැංකුව පීඑල්සී වෙත උකස්කර ඇත්තාවූ මෙහි සඳහන් උපලේඛනයේ සවිස්තරව විස්තර කර ඇති දේපල සහ පරිශ්‍රයන් බලයලත් වෙන්දේසිකාර චන්දිමා ගමගේ මිය විසින් ප්‍රසිද්ධ වෙන්දේසියේ විකිණිය යුතු බවට, 1990 අංක 4 දරන බැංකු මගින් ප්‍රදනය කරන ලද ණය අයකර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනත මගින් පැවරී ඇති බලතල අනුව සෙලාන් බැංකුව පීඑල්සී අධ්‍යක්ෂ මණ්ඩලය විසින් මෙයින් යෝජනා සම්මත කරනු ලැබේ.

**උපලේඛනය**

වයඹ පළාතේ, පුත්තලම් දිස්ත්‍රික්කය තුළ සහ මාරවිල ලියාපදිංචි කිරීමේ කොට්ඨාසය තුළ දකුණු පිටිගල් කෝරළේ ඔිතර පත්තුවේ වෙන්නප්පුව ප්‍රාදේශීය සභා සීමාව තුළ දංකොටුව ගමේ පිහිටි දංකොටුව ප්‍රාදේශීය ලේකම් කාර්යාල කොට්ඨාසය තුළ දංකොටුව නැගෙනහිර 474/බී ග්‍රාම නිලධාරී කොට්ඨාසය තුළ බලයලත් මිනින්දෝරු ඩබ්ලිව්. එස්. එස්. ඒ ප්‍රනාන්දු විසින් සාදන ලද 2017.01.15 දිනැති අංක 5796 දරන සැලැස්මේ නිරූපනය වන කහටගහවත්ත නැමැති, ඉඩමේ ලොට් 1 ලකුණු කල බෙද වෙන් කරන ලද ඉඩම් කොටසට මායිම්. උතුරට : දංකොටුව පාර සිට පන්නල මහා මාර්ගයන්ට, බ. මි. ඩබ්ලිව්. එස්. ඒ. ප්‍රනාන්දු විසින් සාදන ලද අංක 4301 සැලැස්මේ සඳහන් ලොට් 1, බලයලත් මිනින්දෝරු ඩබ්ලිව්. ජේ. එම්. ඩී. පී. ඩයස් විසින් සාදන ලද අංක 88/82-86 සැලැස්මේ සඳහන් ලොට් 2ඒ, මිල්රෝයි පෙරේරා විසින් හිමිකම් කියනු ලබන ඉඩම ද, නැගෙනහිරට : නිතාන්ත කරුණාරත්න විසින් හිමිකම් කියනු ලබන ඉඩම ද, දකුණට : පාර, පී. ඒ. එස්. බර්නඩෙත් විසින් හිමිකම් කියනු ලබන ඉඩම, බලයලත් මිනින්දෝරු ඩබ්ලිව්. ජේ. එම්. ඩී. ජී. ඩයස් විසින් සාදන ලද අංක 88/82 - 86 සැලැස්මේ සඳහන් ලොට් 1ඒ ද, බස්නාහිරට : ඇළ, ලොට් 2 ද යන මායිම් තුළ රූඩ් දෙකයි පර්චස් දහතක් (අ. 0, රූ. 2, පර්. 17.00) ක් විශාල, ගස්, ගොඩනැගිලි, වගා සහ එහි පිහිටි වෙනත් සියලු දේ සමග ඉඩම.

ඉහත විස්තර කරන ලද ඉඩම පහත විස්තර කරනු ලබන ඉඩමේ අතුරු බෙදීමක් වේ.

වයඹ පළාතේ, පුත්තලම දිස්ත්‍රික්කය තුළ සහ මාරවිල ලියාපදිංචි කිරීමේ කොට්ඨාසය තුල දකුණු පිටිගල් කෝරළේ ඔිතර පත්තුවේ වෙන්නප්පුව ප්‍රාදේශීය සභා සීමාව තුල දංකොටුව ගමේ පිහිටි දංකොටුව ප්‍රාදේශීය ලේකම් කාර්යාල කොට්ඨාසය තුළ සහ දංකොටුව නැගෙනහිර 474/බී ග්‍රාම නිලධාරී කොට්ඨාසය තුළ බලයලත් මිනින්දෝරු ඩබ්ලිව්. එල්. එච්. ප්‍රනාන්දු විසින් සාදන ලද 2006.10.13 දිනැති අංක 7199 දරන සැලැස්මේ නිරූපනය වන කහටගහවත්ත නමැති, ඉඩමේ ලොට් 2 ලකුණු කල බෙද වෙන්කරන ලද ඉඩම් කොටසට මායිම් :

උතුරට : මහා මාර්ග, බලයලත් මිනින්දෝරු ඩබ්ලිව්. ජේ. එම්. ඩී. ජී. ඩයස් විසින් සාදන ලද අංක 88/82-86 සැලැස්මේ සඳහන් ලොට්ස් 1, 2 සහ 4 ද, නැගෙනහිරට : ලොට් 3, බලයලත් මිනින්දෝරු ඩබ්ලිව්. ජේ. එම්. ඩී. පී. ඩයස් විසින් සාදන ලද අංක 88/82-86 සැලැස්මේ සඳහන් ලොට්ස් 3 සහ 4 ද, දකුණට : පාර, පී. ඒ. එස්. බර්නඩෙත් විසින් හිමිකම් කියනු ලබන ඉඩම, බලයලත් මිනින්දෝරු ඩබ්ලව්. ජේ. එම්. ඩී. ජී. ඩයස් විසින් සාදන ලද අංක 88/82-86 සැලැස්මේ සඳහන් ලොට් සී ද, බස්නාහිරට : ඇළ, බලයලත් මිනින්දෝරු ඩබ්ලිව්. ජේ. එම්. ඩී. ජී. ඩයස් විසින් සාදන ලද අංක 88/82-86 සැලැස්මේ සඳහන් ලොට් 2 ද යන මායිම් තුල රූඩ් දෙකයි පර්චස් තිස්පහයි දශම හයක් (අ. 0, රූ. 2, පර්. 35.6) ක් විශාල, ගස්, ගොඩනැගිලි, වගා සහ එහි පිහිටි වෙනත් සියලු දේ සමග ඉඩම.

පහත සඳහන් මාර්ග අයිතිය සමග

වයඹ පළාතේ, පුත්තලම දිස්ත්‍රික්කය තුළ සහ මාරවිල ලියාපදිංචි කිරීමේ කොට්ඨාශය තුල දකුණු පිටිගල් කෝරළේ ඔිතර පත්තුවේ වෙන්නප්පුව ප්‍රාදේශීය සභා සීමාව තුල දංකොටුව ගමේ පිහිටි දංකොටුව ප්‍රාදේශීය ලේකම් කාර්යාල කොට්ඨාසය තුල සහ දංකොටුව නැගෙනහිර 474/බී ග්‍රාම නිලධාරී කොට්ඨාසය තුල බලයලත් මිනින්දෝරු ඩබ්ලිව්. ජේ. එම්. ඩී. පී. ඩයස් විසින් සාදන ලද අංක 88/82-86 සැලැස්මේ කහටගහවත්ත නමැති, ඉඩමේ ලොට් 1 ලකුණු කල බෙද වෙන්කරන ලද ඉඩම් කොටසට මායිම් : උතුරට : මහා මාර්ග, නැගෙනහිරට : ආර්. අයි. ප්‍රනාන්දුපුල්ලේ

විසින් හිමිකම් කියනු ලබන ඉඩම ද, දකුණට : එච්. ඒ. සිරිල් මැතිව් විසින් හිමිකම් කියනු ලබන ඉඩම, සලමන් අප්පුහාමි සහ තවත් අය විසින් හිමිකම් කියනු ලබන ඉඩම ද, බස්නාහිරට : ලොට් 4 ද යන මායිම් තුළ පර්චස් නවයක් (අ. 0, රූ. 0, පර්. 9.00) ක් විශාල, ගස්, ගොඩනැගිලි, වගා සහ එහි පිහිටි වෙනත් සියලු දේ සමග ඉඩම.

අධ්‍යක්ෂ මණ්ඩලයේ අණ පරිදි,

කේ. හැව් මිය,
දෙපාර්තමේන්තු ප්‍රධානී - නීති.

01 - 583/5

---

## මහජන බැංකුව - වරකාපොල ශාඛාව

### 1986 අංක 32 දරන පනතින් සංශෝධිත 1961 අංක 29 දරන මහජන බැංකු පනතේ 29ඩී වගන්තිය යටතේ යෝජනාව

1986 අංක 32 දරන පනතින් සංශෝධිත 1961 අංක 29 දරන මහජන බැංකු පනතේ 29 ඩී (29D) වගන්තිය යටතේ මහජන බැංකුවේ අධ්‍යක්ෂ මණ්ඩලය විසින් 2017.10.26 වැනි දින පහත සඳහන් යෝජනාව ඒකමතිකව සම්මත කරන ලද බැව් මෙයින් නිවේදනය කරනු ලැබේ.

ප්‍රසිද්ධ නොතාරිස් ඩී.එම්.එස්. හේරත් විසින් සහතික කරන ලද 2012.01.06 වැනි දිනැති අංක 6982 දරන උකස්කරය සහ ඩී. එම්. එස්. හේරත් විසින් සහතික කරන ලද 2012.06.01 දිනැති අංක 7812 දරන උකස්කරය සහ ප්‍රසිද්ධ නොතාරිස් ඩබ්. එම්. ඒ. පී. මාතාල් විසින් සහතික කරන ලද 2017.02.20 වැනි දිනැති අංක 388 දරන උකස්කරය සහ ප්‍රසිද්ධ නොතාරිස් ඩබ්. එම්. ඒ. පී. මානෙල් විසින් 2017.02.20 වැනි දිනැති අංක 390 දරන උකස්කරයන් ප්‍රකාර ගෙවීම් කිරීම කීර්තිසිරි, මාහේන, වරකාපොල හි පදිංචි බෝපේ ආරච්චිලාගේ චාන්දන කීර්තිසිරි විජේතුංග යන අය විසින් පැහැර හැර ඇති බැවින් ද, අංක 6982 දරන උකස්කරය මත ප්‍රදනිත රු. 3,000,000.00 ක ණය මුදලේ 2017.09.19 වැනි දිනට රුපියල් විසිඑක් ලක්ෂ හැටහත්දහස් පන්සිය තිස්අටයි ශත අසූව (රු. 2,167,538.80) ක මුදලක් හා 2017.09.20 වැනි දින සිට රු. 2,029,959.48 වර්ෂයකට 17% බැගින් වෙන්දේසි දිනය තෙක් පොළිය සහ අංක 7812 දරන උකස්කරය මත ප්‍රදනිත රු. 1,000,000.00 ක ණය මුදලේ 2017.08.17 දිනට රුපියල් හයලක්ෂ අනූ දෙදහස් අසූ එකයි ශත අසූපහ (රු. 692,081.85) ක මුදලක් හා 2017.08.18 වැනි දින සිට රු. 672,020.24 මුදලකට වර්ෂයකට 17% බැගින් වෙන්දේසි දිනය තෙක් පොළිය, 388 දරන උකස්කරය මත ප්‍රදනිත රු. 2,000,000.00 ක ස්ථිර අයිරා පහසුකමේ 2017.08.17 දිනට රුපියල් විසිඑක්ලක්ෂ දහනව දහස් හාරසිය හැට දෙකයි ශත තිස් එක (රු. 2,119,462.31) ක මුදලක් හා 2017.08.18 වැනි දින සිට රු. 2,000,000.00 ක මුදල මත වර්ෂයකට 18.5% බැගින් වෙන්දේසි දිනය තෙක් පොළිය සහ 390 දරන උකස්කරය මත ප්‍රදනිත රු. 5,000,000.00 ක ණය මුදලේ 2017.08.17 වැනි දිනට රුපියල් පනස් එක්ලක්ෂ හැත්තෑ එක්දහස් පන්සිය අනූහතරයි ශත තිස් අට (රු. 5,171,594.38) ක මුදලක් හා 2017.08.18 වැනි දින සිට රු. 4,861,111.12 මුදලකට වර්ෂයකට 17% බැගින් වෙන්දේසි දිනය තෙක් පොළිය හා අදාල මහජන බැංකු පනතේ 29 එල් (29L) වගන්තිය යටතේ අයකරගනු ලැබිය යුතු මුදල් සහ ගාස්තුද සමග අනතුරුව කිසියම් ගෙවීමක් ලැබී ඇත්නම් ඒවා අඩුව එකී ණය මුදල් සඳහා රුපියල් විසිඑක් ලක්ෂ හැටහත්දහස් පන්සිය තිස්අටයි ශත අසූව (රු. 2,167,538.80) ක් සහ රුපියල් හයලක්ෂ අනූ දෙදහස් එසූ එකයි ශත අසූපහ (රු. 692,081.85) සහ රුපියල් විසි එක් ලක්ෂ දහනව දහස් හාරසිය හැට දෙකයි ශත තිස් එක (රු. 2,119,462.31) සහ රුපියල් පනස් එක්ලක්ෂ හැත්තෑ එක්දහස් පන්සිය අනූහතරයි ශත තිස් අට (රු. 5,171,594.38) ක් සහ ගෙවිය යුතු මුළු මුදල මත පොලියද අයකරගැනීම සඳහා මහනුවර බලයලත් වෙන්දේසිකාර ෂොක්මන් සහ සමරවික්‍රම විසින් එකී අංක 6982, 7812, 388 සහ 390 දරන උකස්කරයන් යටතේ එකී බැංකුවට උකස් කර ඇති දේපල හා පරිශ්‍රයන් ප්‍රසිද්ධ වෙන්දේසියකදී විකිණිය යුතු යැයි 1986 අංක 32 දරන පනතින් සංශෝධිත 1961 අංක 29 දරන මහජන බැංකු පනත යටතේ තමන් වෙත පැවරී ඇති බලතල අනුව මහජන බැංකුවෙ අධ්‍යක්ෂක මණ්ඩලය මෙයින් තීරණය කරයි.

#### උකස් කර ඇති දේපළ පිළිබඳ විස්තර

01. සබරගමුව පළාතේ, කෑගල්ල දිස්ත්‍රික්කයේ, පරණකුරු කෝරලේ, මාවත පත්තුවේ, කෑගල්ල ප්‍රාදේශීය සභා සීමාව තුළ, කෑගල්ල ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයේ, රංවල ග්‍රාම නිලධාරි කොට්ඨාසයේ රංවල ගමේ පිහිටි ලයිමෙවත්ත, ලිංදෙනියේ වත්ත, දෙහිගහමුලහේන, තැන්නපිටහේන නැමති ඉඩමට බලයලත් මිනින්දෝරු පී. ඉන්ද්‍රානි මල්ලිකා මහත්මිය විසින් 2016.09.25 වැනි දින සහතික කරන ලද අංක 3027 දරන පිඹුරේ ලොට් අංක 01 දරන රූඩ් එකයි පර්චස් දහයක් (අ. 0, රූ. 1, පර්. 10) විශාල කොටස සඳහා මායිම්, උතුරට : පිඹුරු අංක 200 හි ලොට් 02 ද, නැගෙනහිරට : මෙම පිඹුරේ ලොට් 17 ද, දකුණට : අංක 956 පිඹුරේ අංක 24 දරන ප්‍රවේශ මාර්ගය හා 956 පිඹුරේ ලොට් 13 ද, බස්නාහිරට : පිඹුරු අංක 200 හි ලොට් 02 ද, යන මෙකී මායිම් තුළ ඇති ඉඩම සහ ඒ තුළ ඇති ගොඩනැගිලි, ගහකොළ, පළතුරු, ආදී සෑම සියලු දේද මාර්ගයේ මාර්ග පරවශ්‍යතා අයිතියද සමග වේ.

මෙම දේපළ කෑගල්ල ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ D 34/135 දරන පත්ඉරුවේ ලියාපදිංචි වී ඇත.

අධ්‍යක්ෂ මණ්ඩලයේ අණ පරිදි,

ප්‍රාදේශීය කළමනාකාර,
කෑගල්ල.

මහජන බැංකුව,
ප්‍රාදේශීය ප්‍රධාන කාර්යාලය,
කෑගල්ල.

01 - 589

**මහජන බැංකුව - ගල්කිරියාගම (301) ශාඛාව**

1986 අංක 32 දරන පනතින් සංශෝධිත 1961 අංක 29 දරන මහජන බැංකු පනතේ 29ඩී වගන්තිය යටතේ වන යෝජනාව

1986 අංක 32 දරන පනතින් සංශෝධිත 1961 දරන මහජන බැංකු පනතේ 29 ඩී වගන්තිය යටතේ මහජන බැංකුවේ අධ්‍යක්ෂ මණ්ඩලය විසින් වැනි දින පහත සඳහන් යෝජනාව ඒකමතිකව සම්මත කරන ලද බව මෙයින් නිවේදනය කරනු ලැබේ.

අනුරාධපුර ප්‍රසිද්ධ නොතාරිස් පී.එච්.එල්. ජයතිලක මහතා විසින් සහතික කරන ලද 2013.03.06 වැනි දිනැති අංක 1558, 2013.12.02 දිනැති අංක 1723 සහ 2014.09.12 වැනි දිනැති අංක 1970 දරන උකස්කරයන් ප්‍රකාරව මකුළුගස්වැව, දේවහුව යන ලිපිනයෙහි පදිංචි පිලදූව බෝගහවත්තගෙ අමරසිරි මයා සහ පිලදූව බෝගහවත්තගේ ශාන්ති කල්‍යාණි මිය යන අය විසින් ගෙවීම් පැහැර හැර ඇති බැවින්ද, එකී උකස්කරයන් යටතේ රුපියල් දසය ලක්ෂ දහදහස් හයසිය අසූවයි ශත අසූ එක (රු. 1,610,680.81) ක මුදලක් සහ රුපියල් විසිපන් ලක්ෂයයි ශත පහ (රු. 2,500,000.05) ක මුදලක් සහ රුපියල් හතලිස් අටලක්ෂ හැත්තෑපන්දහසයි ශත හතර (රු. 4,875,000.04) ක මුදලක් දැනට මහජන බැංකුවට ගෙවීමට ඇති බැවින් ද පිලිවෙලින් 2017.01.03 වැනි දින සිට වර්ෂයකට සියයට විස්සක (20%) බැගින් සහ 2017.01.06 වැනි දින සිට පස්අවුරුදු භාණ්ඩාගාර බැඳුම්කර අනුපාත + 3.5% බැගින් සහ 2017.01.18 වැනි දින සිට හයමාසික බරිත සාමාන්‍ය තැන්පතු අනුපාතය + වාර්ෂිකව සියයට හතරයි (හයමාසික බරිත සාමාන්‍ය තැන්පතු අනුපාතය + 4%) බැගින් රුපියල් දසය ලක්ෂ දහදහස් හයසිය අසූවයි ශත අසූ එක (රු. 1,610,680.81) ක මුදලක් සහ රුපියල් විසි පන්ලක්ෂයයි ශත පහ (2,500,000.05) ක මුදලක් සහ රුපියල් හතලිස් අටලක්ෂ හැත්තෑපන්දහසයි ශත හතර (රු. 4,875,000.04) ක මුදලක් සඳහා වෙන්දේසි දින දක්වා තවදුරටත් පොලිය සහ වෙන්දේසි ගාස්තු ඇතුලුව වෙනත් ගාස්තු ඇත්නම් ඒවා ද සමඟ අනතුරුව කිසියම් ගෙවීමක් ලැබී ඇත්නම් ඒවා අඩුකර එකී රුපියල් දසය ලක්ෂ දහදහස් හයසිය අසූවයි ශත අසූ එක (රු. 1,610,680.81) ක මුදලක් සහ රුපියල් විසිපන් ලක්ෂයයි ශත පහ (2,500,000.05) ක මුදලක් සහ රුපියල් හතලිස් අටලක්ෂ හැත්තෑපන්දහසයි ශත හතර (රු. 4,875,000.04) ක මුදලක් අයකර ගැනීම සඳහා මහනුවර බලයලත් වෙන්දේසිකාර ෂොක්මන් සහ සමරවික්‍රම විසින් එකී අංක 1558, 1723 හා 1970 දරන උකස්කරයන් යටතේ එකී බැංකුවට උකස්කර ඇති දේපල හා පරිශ්‍රය ප්‍රසිද්ධ වෙන්දේසියේ විකිණිය යුතු යැයි වර්ෂ 1986 අංක 32 දරන පනතින් සංශෝධිත 1961 අංක 29 දරන මහජන බැංකු පනතේ 29 ඩී වගන්තිය යටතේ මහජන බැංකුවේ අධ්‍යක්ෂක මණ්ඩලය තීරණය කරයි.

**උකස්කර ඇති දේපළ පිළිබඳ විස්තර**

මධ්‍යම පළාතේ, මාතලේ දිස්ත්‍රික්කයේ, උතුරු මාතලේ කන්දපල්ල කෝරලේ, ගලේවෙල ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයේ, ගලේවෙල ප්‍රාදේශීය සභාබල සීමාවේ, මකුළුගස්වැව/වැටකොළුවාවැව ග්‍රාම නිලධාරි කොට්ඨාසයේ, ගල්වඩුවාගම පිහිටි ගල්වඩුවාගෙදර වත්ත හිනපිටයාය දික්යාය නමැති ඒකාබද්ධ ඉඩමට බලයලත් මිනින්දෝරු ජී. බෝගහපිටිය මහතා විසින් 2000.09.12 වැනි දින මැන සාදන ලද අංක 564 පිඹුරේ කැබලි අංක 02 දරන බිම් කැබැල්ලට මායිම්, උතුරට : වි.පි. 382 හි කැබලි අංක 312 ද, නැගෙනහිරට : අංක 147 දරන පිඹුරේ කැබලි අංක 09 දරන කොටස, වී.පී. 382 කැබලි අංක 311, වී.පි. 359 හි කැබලි අංක 24 ද, දකුණට : වී.පි. 359 හි කැබලි අංක 32 ලෙස දක්වා ඇතත් වඩාත් නිවැරදි ලෙස දක්වුවහොත් වී.පී. 359 හි කැබලි අංක 22 හි කොටසක් ලෙස ද, බස්නාහිරට : පිඹුරු අංක 147 හි කැබලි අංක 1, 2, 3, 4, 5 සහ 6 දරන කොටස් ගලේවෙල කැකිරාව මහ පාර ලෙස දක්වා ඇතත් වඩාත් නිවැරදි ලෙස දක්වුවහොත් පිඹුරු අංක 147 හි කැබලි අංක 2, 3, 4, 5 සහ 6 දරන කොටස් ගලේවෙල කැකිරාව මහ පාර, එෆ්.වී.පී. 359 හි කැබලි අංක 1 සහ කැබලි අංක 323 ද, යන මායිම් තුළ පිහිටි ප්‍රමාණයෙන් අක්කර නැත රූඩ් දෙකයි පර්චස් හතයි දශම හතයි පහක් (අ. 0, රූ. 2, පර්. 7.75) විශාල ඉඩම සහ ඊට අයිති ගොඩනැගිලි, ගහකොළ, පළතුරු, ආදී සෑම සියලු දේත් සමග වේ.

මෙම දේපළ මාතලේ ඉඩම් රෙජිස්ට්‍රාර් කාර්යාලයේ අංක ඩී 126/251, එම් 04/29, එම් 22/80 සහ එම් 22/110 දරන පත්ඉරුවල ලියාපදිංචි වී ඇත.

අධ්‍යක්ෂ මණ්ඩලයේ අණ පරිදි,

මහජන බැංකුව,
ප්‍රාදේශීය ප්‍රධාන කාර්යාලය,
අනුරාධපුර.

දේපල වෙන්දේසියේ අවම ලංසුවේ වටිනාකම රුපියල් එක්කෝටි විසිලක්ෂය (රු. 12,000,000.00) ක් විය යුතුය.

ප්‍රාදේශීය කළමනාකාරිණි,
අනුරාධපුර.

01 - 590

ශ්‍රී ලංකා රජයේ මුද්‍රණ දෙපාර්තමේන්තුවේ මුද්‍රණය කරන ලදී.

සැ. යු. -2018.01.12 දින පළවූ  අංක 2054 දරන ගැසට් පත්‍රයේ II සහ IV (අ) කොටස් පළ නොවීය.

# ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ ගැසට් පත්‍රය

**අංක 2,055 - 2018 ජනවාරි මස 19 වැනි සිකුරාදා - 2018.01.19**

(රජයේ බලයපිට ප්‍රසිද්ධ කරන ලදී)

## I වැනි කොටස : (IIඅ) වැනි ඡෙදය - පළකිරීම්

(වෙන වෙනම ගොනු කර ගත හැකි පරිදි සෑම කොටසකට ම අයත් එක් එක්  භාෂාවකට වෙන වෙනම පිටු අංක යොදා ඇත)

| | පිටුව | | පිටුව |
|---|---|---|---|
| තනතුරු ඇබෑර්තු .... ... ... | — | විභාග, විභාග ප්‍රතිඵල ආදිය ... ... ... | 3 |

සැ. යු. -(i)  සක්‍රීය බැරැකම් කළමනාකරණය කිරීමේ පනත් කෙටුම්පත 2018 ජනවාරි මස 19 වැනි දින *ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ ගැසට් පත්‍රයේ* II වැනි කොටසේ අතිරේකයක් වශයෙන් පළකරන ලදී.

**සතිපතා නිකුත් වන ගැසට් පත්‍රයෙහි පළකිරීම  සඳහා භාරගනු ලබන දැන්වීම් පිළිබඳ**

**වැදගත් නිවේදනයයි**

ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ *ගැසට් පත්‍රයේ* අවසන් පිටුවේ සෑම මාසයක ම මුල් සතියේ දී පළ කරන නිවේදන භාරගන්නා දිනයන් සහ වේලාවන් පිළිබඳව මින් අවධානය යොමු කරනු ලැබේ.

*ගැසට් පත්‍රයේ* පළකිරීම සඳහා දැන්වීම් භාරගැනීම *ගැසට් පත්‍රය* පළකරනු ලබන දිනයට සති දෙකකට පෙර සිකුරාදා දිනයෙහි දහවල් 12.00 ට අවසන් කරනු ලැබේ. තනතුරු - ඇබෑර්තු, විභාග, ටෙන්ඩර් සහ වෙන්දේසි පිළිබඳ දැන්වීම්වල අවසන් දින සහ වේලාවන් ඒ පිළිබඳව උනන්දුවක් දක්වන අයට ප්‍රමාණවත් කාල වේලාවක් ලැබෙන පරිදි යොදාගත යුතු බවට, සියලු ම දෙපාර්තමේන්තු, සංස්ථා සහ මණ්ඩල යනාදිය වගබලාගත යුතු බව මින් අවධාරණය කෙරේ. පළකිරීම සඳහා එවනු ලබන සෑම දැන්වීමක් ම තනි පැත්තේ පමණක් පැහැදිලිව පිටපත් කළ යුතු ය. **නිරවද්‍යතාවය පිළිබඳව කරන විමසීම් සහ පැමිණිලි ගැසට් පත්‍රය පළ වූ දින සිට තෙමසකට පසුව භාරගනු නොලැබේ.**

ගැසට් පත්‍රයේ පළ කරන සෑම දැන්වීමක් ම ගැසට් පත්‍රය පළ කරනු ලබන දිනට සති දෙකකට පෙර එනම්, 2018 පෙබරවාරි මස 09 වැනි දින පළකරන *ගැසට් පත්‍රයේ* දැන්වීම් 2018 ජනවාරි මස 26 වැනි දින දහවල් 12.00ට හෝ ඊට පෙර තැපෑලෙන් හෝ ගෙනවිත් රජයේ මුද්‍රණාලයට භාරදිය යුතු ය.

**2006 අංක 19 දරන ඉලෙක්ට්‍රොනික ගනුදෙනු පනත - 9 වැනි වගන්තිය**

*"යම් ප්‍රකාශනයක්, රීතියක්, නියෝගයක්, නියමයක්, අතුරු ව්‍යවස්ථාවක්, නිවේදනයක් හෝ වෙනත් කිසිවක් ගැසට් පත්‍රයේ පළ කළ යුතු බවට යම් පනතකින් හෝ නීති ප්‍රඥප්තියකින් විධිවිධාන සලස්වා ඇති අවස්ථාවක, ඒ රීතිය, නියෝගය, නියමය, අතුරු ව්‍යවස්ථාව, නිවේදනය හෝ වෙනත් දෙය ඉලෙක්ට්‍රොනික ස්වරූපයේ වන ගැසට් පත්‍රයක පළ කරනු ලැබුවහොත් ඒ විධිවිධානය සම්පූර්ණ කර ඇත්තාක් සේ සැලකිය යුතු ය."*

**ගංගානි ලියනගේ,**
රජයේ මුද්‍රණාලයාධිපති (*වැ. බ.*)

2018 ජනවාරි මස 01 වැනි දින,
කොළඹ 08,
රජයේ මුද්‍රණ දෙපාර්තමේන්තුවේ දී ය.

මෙම ගැසට් පත්‍රය *www. documents.gov.lk* වෙබ් අඩවියෙන්  බාගත කළ හැක.

75 - B 81244 — 5,453  (2018/01)

## විභාග අපේක්ෂකයන් සඳහා නීති සහ උපදෙස්

"1968 අංක 25 දරන විභාග පනතේ දක්වා ඇති විධිවිධානයන්ට අනුකූලව කටයුතු කිරීමට සියලුම විභාගාපේක්ෂකයින් බැඳී ඇත"

සියලු ම විභාගාපේක්ෂකයින් පහත සඳහන් නීති පිළිපැදීමට බැඳී සිටිය යුතුය. මේ නීති කිසිවක් උල්ලංඝනය කරන විභාගාපේක්ෂකයෙකුට විභාග කොමසාරිස්ගේ අභිමතය පරිදි පහත සඳහන් දඬුවම් එකක් හෝ ඊට වැඩි ගණනක් හෝ පමුණුවනු ලැබිය හැකිය :-

- (i) මුළු විභාගයටම හෝ ඉන් කොටසකට හෝ නැතහොත් එක් විෂයයකට හෝ ඉන් කොටසකට පෙනී සිටීම හෝ තහනම් කිරීම,
- (ii) විභාගයේ එක් විෂයයකට හෝ මුළු විභාගයටම හෝ නුසුදුස්සෙකු කිරීම,
- (iii) එක් අවුරුද්දකට හෝ අවුරුදු දෙකකට හෝ කිසිම විභාගයකට පෙනී සිටීම තහනම් කිරීම,
- (iv) මුළු ජීවිත කාලයේ ම විභාගයකට පෙනී සිටීම තහනම් කිරීම,
- (v) සහතික පත්‍රය යම්කිසි කාල සීමාවක් තුළ තහනම් කිරීම,
- (vi) විභාගාපේක්ෂකයාගේ ක්‍රියා පරිපාටිය සම්බන්ධයෙන් ඔහු ගැන වගකිවයුත්තන්ට සැලකර සිටීම හෝ විභාගාපේක්ෂකයා පොලීසියට භාරදීම හෝ ඔහුගේ ක්‍රියාව සම්බන්ධයෙන් පොලීසියට පැමිණිලි කිරීම.

විභාගයට කලින් හෝ විභාගය පවත්වාගෙන යන අතරතුර හෝ විභාගයට පසුව හෝ කොයිම අවස්ථාවකදී වුවත් එවැනි විභාගාපේක්ෂකයෙකු සම්බන්ධයෙන් ක්‍රියා කිරීමේ බලය විභාග කොමසාරිස් සතු වේ. ඒ සම්බන්ධයෙන් ඔහුගේ තීරණය අවසාන තීරණය වන්නේ ය. එහෙත් රජයේ සේවකයන් බඳවා ගැනීම සඳහා පවත්වනු ලබන විභාග පිළිබඳ ව විභාග කොමසාරිස්ගේ තීරණය රාජ්‍ය සේවා කොමිෂන් සභාවේ සමීක්ෂණයට යටත් වන්නේ ය.

1. සියලු ම විභාගාපේක්ෂකයන් විභාග ශාලාව තුළදීත් ඒ අසලදීත් විභාග ශාලාධිපතීන්ට ද, ඔහුගේ සහකාරයින්ට ද, අනිකුත් විභාගාපේක්ෂකයින්ට ද බාධාවක් හෝ අවහිරයක් හෝ ඇති නොවන ලෙස ශාන්තදාන්තව හැසිරිය යුතුය. විභාග ශාලාවට ඇතුළු වන විටත්, ඉන් පිටවන විටත් ඉතා සන්සුන් ලීලාවෙන් හැසිරිය යුතුය.

2. විභාගාපේක්ෂකයෝ විභාග ශාලාධිපතීන්ට කීකරු විය යුත්තාහ. එබැවින් ඔවුන් විභාගය පවත්වාගෙන යන අතරතුරත්, විභාගය පටන් ගැනීමට පෙරත්, විභාගය අවසන් වූ විගසත් විභාග ශාලාධිපතීන්ගේ හා ඔහුගේ සහකාරයන්ගේ උපදෙස් අනුව ක්‍රියා කළ යුතු ය.

3. විභාගයේ දී ප්‍රශ්න පත්‍රයකට උත්තර ලිවීම පටන්ගෙන පැය භාගයක් ගතවූවාට පසු මොනම කාරණයක් නිසාවත් විභාගාපේක්ෂකයෙකු විභාග ශාලාවට ඇතුළු කරගනු නොලැබේ. විභාගය පටන් ගෙන පැය භාගයක් ගතවන තුරු ප්‍රශ්න පත්‍රයට පෙනී සිටින අපේක්ෂකයෙකුට විභාග ශාලාවෙන් පිටවී යාම තහනම්ය. ප්‍රායෝගික පරීක්ෂණවලට හෝ වාචික පරීක්ෂණවලට පමා වී පැමිණෙන අපේක්ෂකයන් විභාග ශාලාවට ඇතුළු නොකිරීමට ඉඩ තිබේ.

4. සෑම විභාගාපේක්ෂකයෙකුම තමාගේ විභාග අංකය දරන ආසනයේ හැර වෙන කිසිම තැනක වාඩි නොවිය යුතුය. විභාග ශාලාධිපතිගේ විශේෂ අවසරය නොමැතිව තමන්ගේ ස්ථානය වෙනස් නොකළ යුතුයි. තමන්ට නියම නොකරන ලද අසුනක් ගැනීම වංචනික අදහසින් කරන ලද ක්‍රියාවක් වශයෙන් සලකනු ලැබීමට සිදුවේ.

5. විභාග ශාලාව තුළ සම්පූර්ණයෙන් ම නිශ්ශබ්ද ව සිටිය යුතු ය. මොන ම කාරණයක් නිසාවත් විභාග ශාලාව ඇතුළත දී විභාග ශාලාවේ කාර්ය මණ්ඩලයේ කෙනෙකු සමග හැර, විභාග ශාලාව ඇතුළත හෝ පිටත හෝ සිටින කිසිවකු සමග මොනයම් කරුණක් නිසාවත් කතාබස් කිරීම හෝ පණිවුඩ හුවමාරු කර ගැනීම හෝ වෙනත් අන්දමේ ගනුදෙනු කිරීම හෝ සම්පූර්ණයෙන්ම තහනම්ය. යම් කිසි හදිසි වුවමනාවක් සඳහා කිසිවෙකු සමග කතාබස් කිරීමක් අවශ්‍ය වුවහොත් ප්‍රථමයෙන් ඒ සඳහා විභාග ශාලාධිපතින්ගේ අවසරය ලබා ගත යුතු යි.

6. විභාගාපේක්ෂකයෙකුගේ උත්තර පත්‍රය හඳුනාගනු ලබන්නේ ඔහුගේ විභාග අංකයෙන් පමණක් හෙයින් උත්තර පත්‍රවල තමන්ගේ නම නොලිවිය යුතුයි. තමාගේ උත්තර පත්‍රයෙහි අන්‍ය විභාගාපේක්ෂකයෙකුගේ විභාග අංකය ලිවීම වංචනික ක්‍රියාවක් කිරීමට ප්‍රයත්න දැරීමක් ලෙස සලකනු ලැබේ. හඳුනාගත නොහැකි පරිදි විභාග අංකය ලියා ඇති උත්තර පත්‍ර ප්‍රතික්ෂේප කිරීමට ද සිදුවෙනවා ඇත.

7. තමන් වෙත සපයන ලද කඩදාසි හැර තීන්ත පොවන කඩදාසියෙහි හෝ ප්‍රශ්න පත්‍රයෙහි හෝ මේසය මත හෝ වෙන කිසි තැනක හෝ කිසිවක් නොලිවිය යුතුය. මේ නීතිය නොසැලකීම වංචනික චේතනාවකින් යුක්තව ක්‍රියා කිරීමක් ලෙස සැලකිය හැකි වේ.

8. තමන් වෙත සපයන ලද කඩදාසියක් හෝ උත්තර ලියන පොතක් හෝ ඉරාදැමීම හෝ පොඩි කිරීම හෝ නමා දැමීම හෝ අකාමකා දැමීම හෝ නොකළ යුතුය. කටුවැඩ ආදිය සඳහා පාවිච්චි කරන ලද සෑම කඩදාසියක්ම උත්තර පත්‍රයට ඇමිණිය යුතු ය. ඒවා උත්තර පත්‍රයෙහිම කොටසක් විය යුතු ය. එබඳු කටුවැඩ පැහැදිලි ලෙස කපා හැරිය යුතුයි. විභාග ශාලාවේ දී ලියන ලද කිසිම දෙයක් ඉන් පිටත ගෙනයෑම තහනම් ය. එකම ප්‍රශ්නයකට පිළිතුරු දෙතැනක ලියැවී තිබේ නම් අනවශ්‍ය පිළිතුරු පැහැදිලි ලෙස කපා හැරිය යුතුයි. මේ කරුණු පැහැර හැරීම වංචාවක් කිරීමට ප්‍රයත්න දැරීමක් සේ සැළකීමට ඉඩ තිබේ.

9. ගණිත ප්‍රශ්නවල දී ගණන් වරදවා සාදා හෝ ගණනක් කොහෙත්ම නොසාදා හෝ නිවැරදි පිළිතුරු දැක්වීමත් චිත්‍ර කර්මයේ දී තමන්ගේ චිත්‍රය තවත් අපේක්ෂකයෙකුගේ චිත්‍රයට ආකල්ප මාත්‍රයෙන් හෝ ස්වරූපයෙන් හෝ ක්‍රියාකාරිත්වයෙන් හෝ යනාදියකින් සමානව, එසේ නැතිනම් බොහෝ සෙයින්ම කිට්ටුවම තිබීමත්, වංචා සහගත ක්‍රියාවක් සේ සලකනු ලැබීමට හේතු විය හැකිය.

10. විභාගයේ දී උත්තර ලිවීම සඳහා තමන්ට සපයනු ලබන කඩදාසි හෝ වෙනත් ද්‍රව්‍ය විභාග ශාලාවෙන් පිටතට ගෙනයාම තහනම්ය. මේ සියලුම දෑ විභාග කොමසාරිස් සතුය. මේ නීතිය කඩකිරීම වංචනික චේතනාවකින් යුත් ක්‍රියාවක් ලෙස සැලකීමට හේතු විය හැකිය.

11. තමන් වෙත සපයන ලද ලිපිද්‍රව්‍ය හැර වෙනත් පොත්පත්, සටහන් පොත්, සාක්කුවේ පාවිච්චි කරන නෝට් පොත්, ඇක්සයිස් පොත් හා කඩදාසි කොළ හෝ කැබලි ද, තමන්ගේ පාට පෙට්ටි හා පාර්සල් ආදිය ද, පයිල් කවර, කාඩ්බෝඩ් පෑඩ්, නැවූ ප්‍රවෘත්ති පත්‍ර, බ්‍රවුන් පේපර් යනාදිය ද, විභාග ශාලාව තුළ සිටින කිසි විටෙක තමා වෙත හෝ සමීපයෙහි හෝ තබා නොගත යුතුය. මේ නීතිය කඩ කිරීම දඬුවම් ලැබිය හැකි ක්‍රියාවකි.

12. විභාග ශාලාව තුළ කිසිම අපේක්ෂකයෙකු අත කිසිම පොතපතක් හෝ සටහන් පොතක් හෝ සටහන් ලියන කඩදාසියක් හෝ තබා ගැනීම සම්පූර්ණයෙන්ම තහනම් ය. විභාග ශාලාධිපතීන් නියම කළහොත් සෑම අපේක්ෂකයෙක්ම තමන් සන්තකව තිබෙන දෑ මේ මේ යයි සහතික කිරීමට බැඳී සිටී. මේ අවශ්‍යතා කඩකිරීම වංචා සහගත ක්‍රියාවක් කිරීමට යත්න දැරීමක් ලෙස සලකනු ලැබේ.

13. වෙනත් අපේක්ෂකයෙකුගේ උත්තර පත්‍රයකින් හෝ පොතපතකින් හෝ පත්‍රයකින් හෝ සටහන් සහිත කොළයකින් හෝ වෙන කිසිවකින් හෝ ගෙන, හොර උත්තර ලිවීම හෙවත් කොපි කිරීම, හොර උත්තර ලිවීමට යත්න දැරීමද තහනම් ය. තවත් අපේක්ෂකයෙකුගේ උත්තර පත්‍රයක් දෙස බැලීම ද නොකළ යුතුය. වෙන අයදුම්කරුවෙකුට උදව් දීමෙන් ද, වෙන අයදුම්කරුවෙකුගෙන් හෝ පුද්ගලයෙකුගෙන් හෝ උදව් ලබා ගැනීමෙන් ද සම්පූර්ණයෙන්ම වැළකිය යුතුය. උත්තර ලියා සම්පූර්ණ වූ සෑම කඩදාසියක්ම ලියමින් සිටින කඩදාසිය යට තබා ගත යුතුය. ලියන කඩදාසි මේසය මත විසුරුවා නොදැමිය යුතුය.

14. ප්‍රශ්න පත්‍රයකට උත්තර ලියන අතරතුර මොනම කරුණක් නිසාවත් ස්වල්ප වේලාවකටවත් විභාග ශාලාවෙන් පිටවී යාමට කිසිම අපේක්ෂකයෙකු ඉඩදෙනු නොලැබේ. එහෙත් යම්කිසි හදිසි කරුණක් නිසා විභාගාපේක්ෂකයෙකුට ඉන් පිටත යන්නට උවමනා වුවහොත් විභාග ශාලාධිපතිගේ සහකාර නිලධාරියෙකුගේ සුපරීක්ෂාකාරීත්වය යටතේ විභාග ශාලාවෙන් ඔහුට ස්වල්ප වේලාවකට පිටතට යාමට අවසර දෙනු ලැබේ. එසේ පිටතට යාමට පෙරත් නැවත විභාග ශාලාවට ඇතුළු වන විටත් ඔහු සෝදිසියකට භාජනය විය යුතුය.

15. විභාග ශාලාවේ දී පිළිතුරු ලියන විට විභාගය පටන් ගැනීමට පෙර හෝ නියම විභාග අපේක්ෂකයෙකු වෙනුවට ව්‍යාජ අපේක්ෂකයෙකු පෙනී සිටීම දඬුවම් ලැබිය යුතු ක්‍රියාවකි. අනන්‍යතා පත්‍ර වෙනස් කිරීම හෝ බොරු අනන්‍යතා පත්‍ර ඉදිරිපත් කිරීමත්, කෙනෙකුගේ අනන්‍යතා සහතිකය වෙනස් කිරීමත් එබඳු වරදවල් ය. විභාගාපේක්ෂකයන් එවැනි වරදට අසු නොවිය යුතුය.

16. විභාග අපේක්ෂකයෙකු නොවන අයෙක් කිසිම අපේක්ෂකයෙකුට අයථා අන්දමින් වංචා සහගත ලෙස උදව් දීම බරපතල වරදක් ලෙස සලකනු ලැබේ.

විභාග අපේක්ෂකයන් විසින් තමන්ගේ පරෙස්සම සඳහා පහත සඳහන් උපදෙස් අනුව ක්‍රියා කළ යුතු ය. :—

(i) විභාගය පටන් ගන්නා නියමිත වේලාවට සෑහෙන පමණ කලින් විභාග ශාලාවට පැමිණෙන්න. එක් එක් ප්‍රශ්න පත්‍රය පටන් ගැනීමට නියමිත වේලාවට යටත් පිරිසෙයින් විනාඩි 10කට හෝ 15කට කලින් විභාග ශාලාවට පැමිණ සිටීම සෑහේ. විභාග ශාලාව පිහිටා ඇති ස්ථානය හරිහැටි නොදත් විට විභාගය පටන් ගන්නා දිනයට කලින් ඒ ගැන සොයා බලා නියම ස්ථානය හරි හැටි දැන සිටිය යුතුය.

(ii) යම්කිසි විෂයයකට ඇතුළත්වීම ගැන හෝ යම් විෂයයකට පෙනී සිටීමට ඇති සුදුසුකම් ගැන හෝ සැකයක් ඇති වූ විට එම ප්‍රශ්න පත්‍රයට පිළිතුරු සැපයීමට පටන් ගැනීමට පෙර විභාග ශාලාධිපතීන්ට ඒ බැව් සැළකර එම සැකය දුරුකර ගත යුතුයි. එලෙස ක්‍රියා නොකිරීම එම විෂයය හෝ විෂයයන් සම්බන්ධයෙන් තමන්ගේ විභාගාපේක්ෂකත්වය අවලංගු වී යාමට හේතු විය හැකිය.

(iii) විභාගයට පෙනී සිටීමේ දී අපේක්ෂකයන් සෑම විෂයයකටම පෙනී සිටින විට අනන්‍යතා පත්‍ර ඉදිරිපත් කළ යුතුය. අනන්‍යතාවය ඔප්පු කිරීම සඳහා අවශ්‍ය ලියවිලි විභාග ශාලාවේ දී ඉදිරිපත් නොකළහොත් ඔහුගේ විභාගාපේක්ෂකත්වය අවලංගු කිරීමට ඉඩ තිබේ. යම් හෙයකින් ඒ සඳහා අවශ්‍ය ලියවිලි විභාගශාලාවට ගෙන ඒමට අමතක වුවහොත් ඒ බැව් විභාග ශාලාධිපතීන්හට දන්වා විභාගය අවසන් වීමට පෙර එය ඉදිරිපත් කිරීමට මං සළසා ගත යුතුය.

(iv) විභාගය සඳහා සාමාන්‍යයෙන් සම්මත වර්ගයකට අයත් ලිපිද්‍රව්‍ය (එනම් ලියන කඩදාසි, තීන්ත පොවන කඩදාසි, ලැජර් කඩදාසි, සාරාංශ ලියන කඩදාසි) ආදිය සපයනු ලැබේ. සාමාන්‍යයෙන් කාටත් බෙදා දෙන වර්ගයකට වෙනස් වූ හෝ අමුතු මෝස්තරයක ලිපි ද්‍රව්‍ය ඔබට ලැබුණහොත් ඒ බව නොපමාව විභාගශාලාධිපතිට දැන්විය යුතුයි. විභාග ශාලාවේ දී ඔබට දෙනු ලබන කඩදාසි හැර වෙන මොනම කඩදාසියක්වත් ප්‍රශ්නවලට උත්තර ලිවීම සඳහා පාවිච්චි නොකළ යුතුයි. ඉතිරි වන කඩදාසි සහ වෙනත් ද්‍රව්‍ය අපිරිසිදු නොකර නැවත ප්‍රයෝජනයට ගත හැකි වන සේ ඔබගේ ලියන මේසය මත තබන්න. ඔබට ලඝුගණක චක්‍ර සපයන ලද්දේ නම් ඒවා පරිස්සමින් පාවිච්චි කොට ඔබේ ලියන මේසය මත තිබෙන්නට හැරිය යුතුය.

(v) විභාගාපේක්ෂකයන් තම තමන්ගේ පෑන්, පැන්සල්, තීන්ත කූඩු, මකන, රෙදි කෑලි, අඩිකෝදු, ජ්‍යාමිතික උපකරණ, පාට පැන්සල් පෙට්ටි, පාට හුණු පෙට්ටි යනාදිය රැගෙන ආ යුතුයි.

(vi) තමන් පාවිච්චි කරන සෑම කඩදාසියකම පිළිතුරු ලිවීමට පටන් ගැනීමේ දී නොපමාව තමන්ගේ විභාග අංකය හා විභාගයේ නමත් පැහැදිලි ලෙස ලියන්න. කඩදාසියේ දෙපැත්තේම පැහැදිලිව ද පිරිසිදුව ද උත්තර ලියන්න. ප්‍රශ්නයක කොටසකට උත්තර ලිවීමෙන් පසු අනික් කොටස පටන් ගැනීමට පෙර එක රූලක්වත් හිස්ව තිබිය යුතුයි. සම්පූර්ණ ප්‍රශ්නයකට උත්තර ලිවීමෙන් පසු රූලක් හෝ රූල් කීපයක් හෝ හිස්ව තබන්න. ලියන සෑම දෙයක්ම එක ගොඩේ තෝරා බේරා ගන්නට නොහැකි ලෙස නොලිවිය යුතුයි.

(vii) උත්තර ලියන කඩදාසියෙහි වම් පැත්තේ තීරය වෙන්කර ඇත්තේ ප්‍රශ්නවල අංක ලිවීම සඳහා ය. දකුණු පැත්තේ තීරය වෙන්කර ඇත්තේ පරීක්ෂකවරයාගේ ප්‍රයෝජනය සඳහා බැවින් එහි කිසිවක් නොලිවිය යුතුයි. තමන් විසින් උත්තර ලියන ලද ප්‍රශ්නවල අංක වරදවා යෙදීම ව්‍යාකූලත්වයට හේතුවන බැවින් ප්‍රශ්න අංක ඉතා පරෙස්සමින් නිවැරදි ලෙස යෙදිය යුතුය.

(viii) අනිවාර්ය ප්‍රශ්න ද, තෝරා ගත යුතු අන් ප්‍රශ්න ද සම්බන්ධව ප්‍රශ්න පත්‍රයේ මුලින්ම සඳහන් කොට ඇති උපදෙස් ඉතා පරෙස්සමින් කියවා බැලිය යුතුයි. මෙය නොසලකා හැරීමෙන් බොහෝ විට පාඩු සිදුවිය හැකිය.

(ix) ගණිත ප්‍රශ්නවලට උත්තර සපයන විට ගැන බැලීම සහ කටුවැඩ ඒ ඒ ගණන් සෑදීමේ කොටසක් වශයෙන් අනුක්‍රමයෙන් විස්තර ලෙස දැක්විය යුතුය. අවශ්‍ය තැන්වල අඳිනු ලබන රූප සටහන් හා චිත්‍ර ආදිය නිවැරදිව ද සෑහෙන පමණ විශාලව ද තිබිය යුතුයි. පිටු කීපයකට යන දිග පිළිතුරුවල දී එක පිටුවක අඳින ලද රූප සටහන් සම්බන්ධයෙන් ඊළඟ පිටුවලදීත් සිත් යොමුකර විය යුතු අවස්ථාවල දී ඒ රූප සටහන් නැවතත් ඇඳ පෙන්වීම යෝග්‍ය වේ.

(x) එක් එක් ප්‍රශ්න පත්‍රයට පිළිතුරු සපයා අවසන් වූ විට උත්තර ලියන ලද කඩදාසි සියල්ලම ප්‍රශ්නවලට උත්තර ලියූ පිළිවෙල අනුව එකතුකොට වම් පැත්තේ ඉහළ කෙළවරේ තමන්ට සපයන ලද නූල් කැබැල්ලෙන් නොගැලවී යන පරිදි එකට තබා අමුණා ගැටගසන්න. දකුණු පැත්තේ උඩ කෙළවරවල් එකට තබා ගැට නොගසන්න.

(xi) ඔබගේ උත්තර පත්‍රය විභාගශාලාධිපතීන්ට හෝ ඔවුන්ගේ සහකාර මහතකුට හෝ සියතින්ම භාරදිය යුතුය. නැතහොත් ඒවා එකතු කරන තුරු ඔබේ අසුනේම වාඩි වී සිටිය යුතුය. එසේ නොකිරීම ඇතැම් විට ඔබගේ උත්තර පත්‍රය නැති වී යාමට ද ඔබ යම් විෂයයකට ඉදිරිපත් නොවූවකු සේ සලකනු ලැබීමට ද හේතු විය හැකිය. මොනම කරුණක් නිසාවත් ඔබගේ උත්තර පත්‍රය විභාග ශාලාවේ සේවය කරන පියුන් කෙනෙකුට හෝ වෙනයම් සේවකයෙකුට හෝ බාර නොදිය යුතුය.

(xii) යම්කිසි කරුණක් නිසා විභාග ශාලාධිපතීන්ට හෝ ඔහුගේ සහකාර මහතෙකුට හෝ කථා කිරීමට අවශ්‍ය වූ විට ද, කඩදාසි ආදිය අවශ්‍ය වූ විට ද තම ආසනයෙන් නොනැගිට අත පමණක් එසවිය යුතුය.

**විභාග කොමසාරිස් ජනරාල්.**

පැලවත්ත,
බත්තරමුල්ල,
ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුවේ දී ය.

# විභාග, විභාග ප්‍රතිඵල ආදිය

## ශ්‍රී ලංකා මුද්‍රණ ආයතනය

(1984 පාර්ලිමේන්තු පනතකින් ස්ථාපනය කරන ලදී)

නිපුණතා සංවර්ධන හා වෘත්තීය පුහුණු අමාත්‍යාංශය

මුද්‍රණ සහ ඩිජිටල් තාක්ෂණය පිළිබඳව දැනුම, හැකියා, දක්ෂතා සහ විශේෂඥතා ඥණය ප්‍රවර්ධනය කිරීමේ ප්‍රමුඛ ස්ථානයේ ලා ගැනෙන ශ්‍රී ලංකා මුද්‍රණ ආයතනය පාර්ලිමේන්තු පනතකින් ස්ථාපනය කරන ලදී.

**ශ්‍රී ලංකා මුද්‍රණ ආයතනයේ පාඨමාලා - 2018**

### Microsoft Office
**මයික්‍රොසොෆ්ට් ඔෆිස්**

මෙම පාඨමාලාව තුළින් MS Office පිළිබඳ පූර්ණ අවබෝධයක් සහ පුහුණුවක් ලබා දෙන අතර පරිගණක භාවිතය පිළිබඳව ද මූලික දැනුම හා අවබෝධය ද ලබාදේ. මෙම පාඨමාලාව පාසල් හැරගිය නවකයන්ට මෙන්ම ආයතනවල රැකියාවන්හි නියුතු පුද්ගලයන්ට ද MS Office මෘදුකාංගය භාවිතය පිළිබඳ මනා දැනුමක් සහ පුහුණුවක් ලබා දේ.

*පාඨමාලා කාලය* - මාස 4 කි, අර්ධකාලීන *මාධ්‍යය* - සිංහල/ඉංග්‍රීසි
*පාඨමාලා ගාස්තුව* - රු. 12,500.00

### Computer Typesetting and Layout Design
**පරිගණක ආශ්‍රිත අකුරු ඇමිණීම සහ පිටු සැලසුම්කරණය**

මෙම පාඨමාලාවට ඉතා ඉහළ ඉල්ලුමක් පවතින අතර මුද්‍රණ, ග්‍රැෆික්, ප්‍රචාරක හා ප්‍රකාශන ක්ෂේත්‍රයේ පවතින ඉහළ රැකියා ඉල්ලුමට සරිලන පාඨමාලා අන්තර්ගතයකින් සකස් වන අතර එම ක්ෂේත්‍රයන්ට ඇතුළත් වීමට බලාපොරොත්තු වන නවකයින් සඳහා විශේෂයෙන් සැකසුණු පාඨමාලාවකි. මෙම පාඨමාලාව තුළින් පරිගණක ආශ්‍රිත අකුරු ඇමිනීම සහ පිටු සැලසුම පිළිබඳව මනා දැනුමක් හා පුහුණුවක් ලබා දේ.

*පාඨමාලා කාලය* - මාස 5 කි, අර්ධකාලීන *මාධ්‍යය* - සිංහල/ඉංග්‍රීසි
*පාඨමාලා ගාස්තුව* - රු. 13,500.00

### Graphic Design (NVQ)
**ග්‍රැෆික් ඩිසයින්**

ග්‍රැෆික්, මුද්‍රණ හා මල්ටිමීඩියා ක්ෂේත්‍රයේ පවතින ඉහළ රැකියා ඉල්ලුමට සරිලන ලෙස මෙම පාඨමාලාව සකස් කර ඇති අතර ඒ තුළින් අද ග්‍රැෆික්ස් නිර්මාණයට අවශ්‍ය සියලු මෘදුකාංග වන Adobe Photoshop, Adobe Illustrator, Adobe Indesign, Coral Draw සහ නිර්මාණ සංකල්ප සහ විධි පිළිබඳ පුළුල් පුහුණුවක් ලබා දෙයි. මෙම පාඨමාලාව පාසල් හැරගිය සිසුන්ට හා ග්‍රැෆික් ක්ෂේත්‍රයේ නියැළෙන පුද්ගලයන්ට සහ එම ක්ෂෙත්‍රයේ රැකියා අපේක්ෂිතයන්ට ද අවශ්‍ය දැනුම හා පුහුණුව ලබා දේ.

SLIOP සහතික පත්‍ර පාඨමාලාව
පාඨමාලා කාලය - මාස 5 කි, අර්ධකාලීන
පාඨමාලා ගාස්තුව - රු. 17,000.00

NVQ Level 4 පාඨමාලාව
පාඨමාලා කාලය - මාස 6 කි, අර්ධකාලීන
පාඨමාලා ගාස්තුව - රු. 21,500.00

### Offset Litho Press Operation for School (NVQ)
**පාසල් හැර ගිය සිසුන් සඳහා ඕෆ්සෙට් යන්ත්‍ර ක්‍රියාකරණය**

අද දිවයිනේ ඉහළ රැකියා ඉල්ලුමක්ව පවතින ඕෆ්සෙට් මුද්‍රණ යන්ත්‍ර ක්‍රියාකරුවන් පුහුණු කිරීමේ පූර්ණ කාලීන පාඨමාලාවක් වන මෙම පුහුණු වැඩසටහන තුළින් ඕෆ්සෙට් මුද්‍රණය හා ලිතෝ මුද්‍රණ යන්ත්‍ර ක්‍රියාකරවීම ඇතුළු ඕෆ්සෙට් මුද්‍රණකරණයට අදාළ ප්‍රායෝගික හා න්‍යායාත්මක දැනුම හා පුහුණුව ලබා දේ. **පුහුණුව අවසාන කිරීමෙන් පසු පාඨමාලාව හැදෑරූ සියලුදෙනාට ශ්‍රී ලංකා මුද්‍රණ ආයතනය මගින් රැකියා ලබා දේ.**

පාඨමාලා කාලය - මාස 14 කි, අර්ධකාලීන මාධ්‍යය - සිංහල
පාඨමාලා ගාස්තුව - රු. 22,500.00

**Web Design**
**වෙබ් අඩවි නිර්මාණකරණය**

මෙම පාඨමාලාව තුළින් නවීන තාක්ෂණයට අනුකූලව වෙබ් අඩවි නිර්මාණකරණය පිළිබඳ පුළුල් දැනුමක් හා පුහුණුවක් ලබාදේ. වෙබ් අඩවි නිර්මාණ ක්ෂෙත්‍රයේ නියැලී සිටින්නන්ට ද එම ක්ෂෙත්‍රයේ රැකියා අපේක්ෂා කරන අයදුම්කරුවන්ට ද මෙය මහත් ප්‍රයෝජනවත් පාඨමාලාවකි.

පාඨමාලා කාලය - මාස 5 කි, අර්ධකාලීන මාධ්‍යය - සිංහල/ඉංග්‍රීසි
පාඨමාලා ගාස්තුව - රු. 16,500.00

**Digital Animation**
**ඩිජිටල් ඇනිමේෂන්**

මෙම පාඨමාලාව තුළින් නව තාක්‍ෂණයට අනුව ද්විමාණ සහ ත්‍රිමාන චලන රූප නිර්මාණකරණය පිළිබඳ පුළුල් දැනුමක් හා අවබෝධයක් ලබාදේ. මෙම ක්ෂෙත්‍රයේ නියැලි පුද්ගලයන්ට මෙන්ම ක්ෂෙත්‍රයේ රැකියා අපේක්ෂිතයන්ට ද මෙම පාඨමාලාව මහත්සේ ප්‍රයෝජනවත් වේ.

පාඨමාලා කාලය - මාස 6 කි, අර්ධකාලීන මාධ්‍යය - සිංහල/ඉංග්‍රීසි
පාඨමාලා ගාස්තුව - රු. 23,000

**Non Linear Editing**
**අරේඛීය සංස්කරණය**

මෙම පාඨමාලාව තුළින් රූපවාහිනි වැඩසටහන් සංස්කරණය සහ පිටපත් රචනය පිළිබඳ පූර්ණ ප්‍රායෝගික සහ න්‍යායාත්මක අවබෝධය ලබාදේ. පාසැල් හැර ගිය සිසුන්ටද වීඩියෝ රූපවාහිනි, චලන රූප කර්මාන්තයේ සහ ඉලෙක්ට්‍රොනික් සන්නිවේදන සහ චිත්‍රපට කර්මාන්තයේ නිරතවුවන්ටද මෙම පාඨමාලාව ඉමහත් ප්‍රයෝජනවත් වේ.

පාඨමාලා කාලය - මාස 4 කි, අර්ධකාලීන මාධ්‍යය - සිංහල/ඉංග්‍රීසි
පාඨමාලා ගාස්තුව - රු. 23,000

**ශ්‍රී ලංකා මුද්‍රණ ආයතනය, රජයේ මුද්‍රණ දෙපාර්තමේන්තුව, අංක 118, දොස්තර ඩැනිස්ටර් ද සිල්වා මාවත, කොළඹ 08.**
දුරකතන : 0112679791, 0112686162 ෆැක්ස් : 0112686162.
ඊමේල් : sliopreg@sltnet.lk, sliopdir@sltnet.lk
වෙබ් : www.sliop.edu.lk, www.facebook.com/page.sliop
මාතලේ ශාඛාව : 071 055 42 98/ 0662222172.

01-475

සැ. යු. - 2017.01.12 වැනි දින පළ වූ අංක 2054 දරන ගැසට් පත්‍රයේ II සහ IV (අ) කොටස් පළ නොවිය.

# ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ ගැසට් පත්‍රය

අංක 2,055- 2018 ජනවාරි මස 19 වැනි සිකුරාදා - 2018.01.19

(රජයේ බලයපිට ප්‍රසිද්ධ කරන ලදී)

## I වැනි කොටස : (IIආ) වැනි ඡේදය - පළකිරීම්

(වෙන වෙනම ගොනු කර ගත හැකි පරිදි සෑම කොටසකට ම අයත් එක් එක් භාෂාවකට වෙන වෙනම පිටු අංක යොදා ඇත)

| | පිටුව |
|---|---|
| ටෙන්ඩර් කැඳවීමේ දැන්වීම් .... ... ... | 80 |
| තීරණය කළ ටෙන්ඩර් පත් පිළිබඳ දැන්වීම් ... ... ... | — |
| බඩු බාහිරාදිය විකිණීම් ... ... ... | — |
| තොටුපල් රේන්ද හා වෙනත් රේන්ද විකිණීම් ... ... ... | — |
| රජයේ නොවන දැන්වීම් ... ... ... | 81 |
| රට බීම විකිණීමේ බලපත්‍රය සඳහා වූ අයදුම්පත් ... ... | — |
| වෙන්දේසි කිරීම් පිළිබඳ දැන්වීම් ... ... ... | 92 |

සැ. යු. -(i) සක්‍රීය බැරකම් කළමනාකරණය කිරීමේ පනත් කෙටුම්පත 2018 ජනවාරි මස 19 වැනි දින ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ ගැසට් පත්‍රයේ II වැනි කොටසේ අතිරේකයක් වශයෙන් පළකරන ලදී.

**සතිපතා නිකුත් වන ගැසට් පත්‍රයෙහි පළකිරීම සඳහා භාරගනු ලබන දැන්වීම් පිළිබඳ**

### වැදගත් නිවේදනයයි

ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ ගැසට් පත්‍රයේ අවසන් පිටුවේ සෑම මාසයක ම මුල් සතියේ දී පළ කරන නිවේදන භාරගන්නා දිනයන් සහ වේලාවන් පිළිබඳව මින් අවධානය යොමු කරනු ලැබේ.

ගැසට් පත්‍රයේ පළකිරීම සඳහා දැන්වීම් භාරගැනීම ගැසට් පත්‍රය පළකරනු ලබන දිනයට සති දෙකකට පෙර සිකුරාදා දිනයෙහි දහවල් 12.00ට අවසන් කරනු ලැබේ. තනතුරු - ඇබෑර්තු, විභාග, ටෙන්ඩර් සහ වෙන්දේසි පිළිබඳ දැන්වීම්වල අවසන් දින සහ වේලාවන් ඒ පිළිබඳව උනන්දුවක් දක්වන අයට ප්‍රමාණවත් කාල වේලාවක් ලැබෙන පරිදි යොදාගත යුතු බවට, සියලු ම දෙපාර්තමේන්තු, සංස්ථා සහ මණ්ඩල යනාදිය වගබලාගත යුතු බව මින් අවධාරණය කෙරේ. පළකිරීම සඳහා එවනු ලබන සෑම දැන්වීමක් ම තනි පැත්තේ පමණක් පැහැදිලිව පිටපත් කළ යුතු ය. නිරවද්‍යතාවය පිළිබඳව කරන විමසීම් සහ පැමිණිලි ගැසට් පත්‍රය පළ වූ දින සිට **තෙමසකට** පසුව භාරගනු නොලැබේ.

ගැසට් පත්‍රයේ පළකරන සෑම දැන්වීමක් ම ගැසට් පත්‍රය පළකරනු ලබන දිනට සති දෙකකට පෙර (එනම්, 2018 පෙබරවාරි මස 09 වැනි දින පළ කෙරෙන ගැසට් පත්‍රයේ දැන්වීම් 2018 ජනවාරි මස 26 වැනි දින දහවල් 12.00ට හෝ ඊට පෙර) තැපැලෙන් හෝ ගෙනැවිත් රජයේ මුද්‍රණාලයට භාරදිය යුතු ය.

**2006 අංක 19 දරන ඉලෙක්ට්‍රොනික ගණුදෙනු පනත - 9 වැනි වගන්තිය**

*" යම් ප්‍රකාශනයක්, රීතියක්, නියෝගයක්, නියමයක්, අතුරු ව්‍යවස්ථාවක්, නිවේදනයක් හෝ වෙනත් කිසිවක් ගැසට් පත්‍රයේ පළකළ යුතු බවට යම් පනතකින් හෝ නීති ප්‍රඥප්තියකින් විධිවිධාන සලස්වා ඇති අවස්ථාවක, ඒ රීතිය, නියෝගය, නියමය, අතුරු ව්‍යවස්ථාව, නිවේදනය හෝ වෙනත් දෙය ඉලෙක්ට්‍රොනික ස්වරූපයේ වන ගැසට් පත්‍රයක පළකරනු ලැබුවහොත් ඒ විධිවිධානය සම්පූර්ණකර ඇත්තාක් සේ සැලකිය යුතුය."*

**ගංගානි ලියනගේ,**
රජයේ මුද්‍රණාලයාධිපති *(වැ. බ.)*.

2018 ජනවාරි මස 01 වැනි දින,
කොළඹ 08,
රජයේ මුද්‍රණ දෙපාර්තමේන්තුවේ දී ය.

*මෙම ගැසට් පත්‍රය www. documents.gov. lk වෙබ් අඩවියෙන් බාගත කළ හැක.*

# ටෙන්ඩර් කැඳවීමේ දැන්වීම්

**අධිකරණ භාරයට ගන්නා ලද අයිතිකරුවන් නොමැතිව රාජ්‍ය සන්තක කරන ලද මෝටර් රථ මුද්‍රා තැබූ මිල ගණන් කැඳවා විකිණීම පිණිස මුලතිව් දිසා අධිකරණය විසින් ටෙන්ඩර් පත්‍රිකා කැඳවීම - 2018**

මුලතිව් දිසා/මහෙස්ත්‍රාත් අධිකරණය විසින් අත්පත් කර ගන්නා ලද අයිතිකරුවන් නොමැතිව රාජ්‍ය සන්තක කරන ලද යතුරු පැදි මෝටර් ට්‍රයි සයිකල් වෑන් ප්‍රසිද්ධ මිල ගණන් කැඳවීම යටතේ විකිණීමට තිබේ. මේ සඳහා වූ ඉල්ලුම්පත්‍ර 2018 පෙබරවාරි මස 06 වැනි දින ප. ව. 2.00 දක්වා භාරගනු ලැබේ.

සියලු ඉල්ලුම්පත්‍ර, මහාධිකරණ විනිසුරු, මහාධිකරණය, වවුනියාව යන ලිපිනයට ලියාපදිංචි තැපැල් මගින් යොමු කළ යුතු ය. එසේ නැතිනම් මහාධිකරණ ගිණුම් අංශයේ තැන්පත් කර ඇති ටෙන්ඩර් පෙට්ටියේ දැමිය යුතු ය. ඉල්ලුම්පත්‍ර යැවීමේ දී ලියුම් කවරයේ ඉහළ කොටසේ ''මුලතිව් දිසා/මහෙස්ත්‍රාත් අධිකරණය විසින් අත්පත් කර ගන්නා ලද අයිතිකරුවන් නොමැතිව රාජ්‍ය සන්තක කරන ලද වාහන සඳහා ප්‍රසිද්ධ මිල ගණන් කැඳවීම'' යනුවෙන් සඳහන් කළ යුතු ය.

තව ද, වර්ගය හා ලියාපදිංචි අංකය ලියුම් කවරයේ වම් කෙළවරේ සඳහන් කළ යුතු ය.

මහාධිකරණ මුද්‍රාව හා මහාධිකරණ ගණකාධිකාරිතැනගේ අත්සන සහිත ඉල්ලුම්පත්‍ර පමණක් පාවිච්චි කළ යුතු ය.

මෙලෙස ටෙන්ඩර් පත්‍රිකා මගින් විකිණීමට තීරණය කර ඇති වාහනවල අයිතිය ඉල්ලන කවුරු හෝ සිටියි නම්, ටෙන්ඩර් පත්‍රිකා කැඳවීම අවසාන දින ප. ව. 2.00 ට පෙර ලේඛන සහිතව තමන්ගේ අයිතිය ඉල්ලීම ඉදිරිපත් කළ යුතු ය. එසේ කිරීමට අපොහොසත් වන්නේ නම් පසුව ඒ සම්බන්ධයෙන් කිසිදු සැලකිල්ලක් නොදක්වන බවත් දන්වා සිටිමු.

එක් එක් වාහන සඳහා වෙන වෙන ම ඉල්ලුම්පත්‍ර ඉදිරිපත් කළ යුතු ය. ඒ සඳහා ආපසු නොගෙවනු ලබන රු. 100ක් සමග, පහත පරිදි තැන්පත් මුදල් තැන්පත් කළ යුතු ය. මෙම ඉල්ලුම්පත්‍ර නිකුත් කිරීම 2018 පෙබරවාරි මස 06 වැනි දින ප. ව. 2.00 ට අවසන් වනු ඇත.

| *අනු. අංකය* | *වාහනයේ විස්තර* | *වාහනයේ වර්ගය* | *ලියාපදිංචි අංකය* | *විකිණීම සඳහා ලබාදෙන ලද අංක* | *තැන්පත් මුදල රු.* |
|---|---|---|---|---|---|
| 01. | යතුරු පැදි | Hero Hunk | BCV 8751 | DC/Mullai/01/2018 | 2,000.00 |
| 02. | මෝටර් ට්‍රයිසයිකල් වෑන් | Motor Tricycle Van | NPQY 3473 | DC/Mullai/02/2018 | 1,000.00 |

වලංගු කාලය තුළ ලැබෙන මුද්‍රා සහිත සියලු ඉල්ලුම්පත්‍ර 2018 පෙබරවාරි 06 වැනි දින ප. ව. 3.00 ට පැමිණ සිටින ඉල්ලුම්කරුවන් ඉදිරිපිට, මහාධිකරණ සම්පාදන කමිටුව විසින් විවෘත කරනු ලැබේ.

ටෙන්ඩර් පත්‍රිකා මගින් ඉහළ මිලක් සඳහන් කොට ඉල්ලුම්කර ඇති ඉල්ලුම්කරුවන්ට එම වාහනය විකිණීමට මහාධිකරණ සම්පාදන කමිටුව අනුමැතිය ලබාදෙයි. ඒ අනුව ඉදිරි විකිණීම් කටයුතු අදාළ අධිකරණය විසින් සිදුකරනු ලැබේ.

ටෙන්ඩර් කැඳවීම මගින් විකිණීමට තීරණය කර ඇති වාහන කාර්යාල දිනවල පෙ. ව. 10.00 සිට ප. ව. 2.30 දක්වා වූ කාලය තුළ අදාල මුලතිව් දිසා/මහෙස්ත්‍රාත් අධිකරණයේ රෙජිස්ට්‍රාර්ගේ අවසරය ඇතුව නිරීක්ෂණය කළ හැකි ය.

විකිණීමට තීරණය කර ඇති වාහන සඳහා තක්සේරු මිල ලබාගෙන ඇති බැවින්, ඉදිරිපත් කරනු ලබන ටෙන්ඩර් පත්‍රිකාවල සඳහන් මිල තක්සේරු මිලට වඩා අඩුවෙන් පවතී නම්, එම වාහන විකිණීම අත්හිටුවා දැමීමට ටෙන්ඩර් මණ්ඩලයට පූර්ණ බලය ඇත.

විකුණන ලද වාහන, මුදල් ගෙවා රිසිට් පත් ලබාගත් වහාම අධිකරණ භූමියෙන් ඉවත් කළ යුතු ය. එමෙන් ම සියලු ගෙවීම් මුදලින් සිදු කළ යුතු ය. චෙක්පත් භාරගනු නොලැබේ. නඩු භාණ්ඩ මිළදී ගන්නා අය තම අනන්‍යතාව තහවුරු කිරීම සඳහා ජාතික හැඳුනුම්පත ඉදිරිපත් කළ යුතු ය.

ඉහත ටෙන්ඩර් මගින් සිදු කරන විකිණීම් පිළිබඳ අවසන් තීරණය ගැනීම වවුනියාව සම්පාදන කමිටුව සතු ය.

බී. ශෂිමහේන්ද්‍ර,
මහාධිකරණ විනිසුරු,
මහාධිකරණය, වවුනියාව.

01-571

# රජයේ නොවන දැන්වීම්

## නිවේදනයයි

2007 අංක 07 දරන සමාගම් පනතේ 9 (1) වැනි වගන්තිය ප්‍රකාරව පහත සමාගම සංස්ථාගත කළ බව මෙයින් නිවේදනය කරනු ලැබේ.

සමාගමේ නම : එල් ටී ඩබ්ලිව් බිස්නස් ගෲප් (පීවීටී) ලිමිටඩ්
සමාගමේ අංකය : පී වී 127774
සමාගම ලියාපදිංචි කළ දිනය : 2017.12.05
ලියාපදිංචි කාර්යාලය : අංක 52/18 A, මඩම පාර, 6 වැනි පටුමග, හැඳල, වත්තල.

සමාගම් ලේකම්.

01-440

---

## දැන්වීමයි

2007 අංක 07 දරන සමාගම් පනතේ 9 (1) වැනි වගන්තිය යටතේ කෙරෙන ප්‍රසිද්ධ දැන්වීමයි.

සමාගමේ නාමය : ක්‍රොස්රෝඩ්ස් විලා (ප්‍රයිවට්) ලිමිටඩ්
සමාගමේ අංකය : පීවී 127978
ලියාපදිංචි ලිපිනය : අංක 2/1, ගල්පොත්ත පාර, නාවල, රාජගිරිය.

සමාගම් ලේකම්.

01-541

---

## දැන්වීමයි

2007 අංක 07 දරන සමාගම් ආඥපනතේ 9 (1) වගන්තිය ප්‍රකාරව පහත නම සඳහන් සමාගම සංස්ථාගත කළ බව මෙයින් දැනුම් දෙමු.

සමාගමේ නාමය : ඉම්කොන් ලංකා (පුද්ගලික) සමාගම
ලියාපදිංචි අංකය : පී වී 127801
ලියාපදිංචි ලිපිනය : 243, පරණ යෝනක වීදිය, කොළඹ 12
සංස්ථාගත කළ දිනය : 2017.12.05

සමාගමේ ලේකම්වරු.

01-544

---

## 2007 අංක 07 දරන සමාගම් පනතේ 59 (2) වගන්තිය යටතේ ප්‍රසිද්ධ දැන්වීම

2007 අංක 07 දරන සමාගම් පනතේ 59(2) වගන්තියේ ප්‍රකාරව අංක 250/1, ටොරින්ටන් ඇවනියු, කොළඹ 7 දරන ලිපිනයේ ලියාපදිංචි කාර්යාලය පිහිටි ඔකඳ පවර් ග්‍රිඩ් (ප්‍රයිවට්) ලිමිටඩ්, එම සමාගම් ප්‍රකාශිත ප්‍රාග්ධනය ශ්‍රී ලංකා රුපියල් තුන්සිය තුන් මිලියන පන්සිය අසූදස් නවසිය පනස් තුනේ (රු. 303,580,953) සිට රුපියල් එකසිය අසූතුන් මිලියන පන්සිය අසූදස් නවසිය පනස් තුන (රු. 183,580,953) දක්වා අඩු කිරීමට යෝජනා කර ඇති බව මෙයින් දැනුම් දෙමු.

අධ්‍යක්ෂ මණ්ඩලයේ අණ පරිදි,

නෙක්සියා කෝපරේට්,
කන්සල්ටන්ට්ස් (ප්‍රයිවට්) ලිමිටඩ්,
සමාගම් ලේකම්,
ඔකඳ පවර් ග්‍රිඩ් (ප්‍රයිවට්) ලිමිටඩ්.

01-546

---

## දැන්වීමයි

2007 අංක 07 දරන සමාගම් පනතේ 9 වැනි ජේදයට අනුව පහත සඳහන් සමාගම ලියාපදිංචි කළ බව දන්වමු.

සමාගමේ නම : බොඩි ටෙක් (ප්‍රයිවට්) ලිමිටඩ්
සමාගමේ අංකය : පී වී 127400
සංස්ථාගත කළ දිනය : 2017.11.20
ලියාපදිංචි කාර්යාලයේ ලිපිනය : අංක 93/1A 1/1, මැනිං පෙදෙස, වැල්ලවත්ත.

කෝ(ර්)පරේට් කන්සල්ටින්ග් ප්‍රයිවට් ලිමිටඩ්,
සමාගම් ලේකම්.

01-547

---

## නිවේදනයයි

2007 අංක 07 දරන සමාගම් පනතේ 9 (1) වැනි වගන්තිය යටතේ නිවේදනයයි.

සමාගමේ නම : වී ජේ සිටි හොටෙල් (ප්‍රයිවට්) ලිමිටඩ්
සමාගමේ අංකය : P V 92801
සමාගමේ ලියාපදිංචි කාර්යාලය : 292, සී ස්ට්‍රීට්, කොළඹ 11
සංස්ථාගත කිරීමේ දිනය : 2013.05.31

ලියාපදිංචි ලේකම්වරු.

01-548

### ඇටෝර්නි බලපත්‍රය අවලංගු කිරීම

දැනට තලවතුගොඩ, පන්නිපිටිය පාරේ, අංක 638/5එෆ් සහ ඇමරිකා එක්සත් ජනපදයේ 78745 ටෙක්සාස්, ඔස්ටින්, බැක්ස්ටර් ස්ප්‍රන්ග්ස් පාරේ, 8109 හි පදිංචි තිරන්ජනි විජේනායක වන මා විසින් කොළඹ 12, දෙවන මහලේ, හල්ස්ඩොප් පටුමගේ, අංක 218 හි පදිංචි ලස්සන සුරංගිකා කුමාරි වලස්මුල්ල වෙත ප්‍රදානය කරන ලද ටෙක්සාස් ප්‍රාන්තයේ ඇෂ්ලි එන්. ස්ටම්ප් ප්‍රසිද්ධ නොතාරිස් ඉදිරිපිට අත්සන් කර සහතික කරන ලද 2017 ජුනි 01 වන දිනැති ඇටෝර්නි බලපත්‍රය මෙහි සඳහන් දින සිට අවලංගු වී අහෝසි වන අතර එය බලපැවැත්වීමක් නොවන බව ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජය සහ මහජනතාව වෙත මෙයින් දැනුම් දෙමි.

තිරන්ජනි විජේනායක.

01-555

---

### ඇටර්නි බලපත්‍රය අවලංගු කිරීම පිළිබඳ දැනුම්දීමයි

ස්විට්සර්ලන්තයේ ව්‍රිට්බැච්, ඩිරේන්බර්ග්, 60 වීදිය, අංක 4632 හි පදිංචි සෙල්ලදුරෙයි ජයකාන්තන් හා බිරිඳ ධාරිණී යන අප දෙදෙනා විසින් අපගේ අත්සනින් යුතුව 2016.02.14 වැනි දින දරන හා යාපනයේ සහකාර දිස්ත්‍රික් රෙජිස්ට්‍රාර් දෙපාර්තමේන්තුවේ දෛනික පොතේ අංක 757 යටතේ ලියාපදිංචි කර ඇති විශේෂ ඇටර්නි බලපත්‍රය මගින් අප සඳහා අප වෙනුවෙන්, හා අප නමින් ක්‍රියාකිරීම සඳහා ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ උරුම්පිරායි, උරුම්පිරායා උතුර පදිංචි තවම් ඉරුතයරාජ් (ජා. හැ. පත් අංක 901363439 වී) යන අයට දෙන ලද අපගේ ඇටෝර්නි බලය අද දින සිට එනම් වර්ෂ 2017 සැප්තැම්බර් මස 30 සිට අවලංගු කරන බව ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයටත් එහි මහජනතාවටත් මෙයින් දැනුම් දෙමු.

ඉහත සඳහන් තවම් ඉරුතයරාජ් යන අය විසින් මින් ඉදිරියට එකී ඇටෝර්නි බලය මගින් කරනු ලබන කිසිදු ගනුදෙනුවකට හෝ ක්‍රියාවකට අප වග නොකියන බව ඉහත සඳහන් සියලු දෙනා වෙත වැඩිදුරටත් දන්වා සිටිමු.

සෙල්ලදුරෙයි ජයකාන්තන් හා බිරිඳ ධාරණී.

01-558

---

### ඇටෝර්නි බලය අවලංගු කිරීම

කොච්චිකඩේ පල්ලන්සේන උතුර අංක 158/5 හි පදිංචි සහ දැනට එක්සත් රාජධානියේ කේම්බ්‍රිජ් CB 1 3 A F කවෙන්ඩිෂ් අංක 18 හි මීවනගේ මිහාල් ක්ලැන්සි පීරිස් වන මම කොළඹ ප්‍රසිද්ධ නොතාරිස් හිරන්ති දීපිකා මොරවක විසින් 2008 අගෝස්තු මස 6 වන දින සාදන ලද අංක 121 දරන ඇටෝර්නි බලපත්‍රය අනුව මාගේ ඇටෝර්නි බලකරු ලෙස පත් කරන ලද දළුවකොටුව කොච්චිකඩේ ජනපද මාවතේ අංක 543 ජී හි පදිංචි දෙන් රොහාන් ශාන්ත කුමාර් ජයසිංහ යන අයට දී ඇති ඇටෝර්නි බලපත්‍රය 2017 දෙසැම්බර් මස 20 වැනි දින සිට බලපවත්වන පරිදි අවලංගු කර ප්‍රත්‍යාදිෂ්ඨ කරන බවද එකී දෙන් රොහාන් ශාන්ත කුමාර් ජයසිංහ යන අය මාගේ ඇටෝර්නි බලකරු ලෙස මින් මතුවට ක්‍රියා නොකරන බවද, එකී දෙන් රොහාන් ශාන්ත කුමාර් ජයසිංහ යන අය විසින් මින් මතුවට මගේ ඇටෝර්නි බලකරු ලෙස කරන කිසිම ක්‍රියාවක් සම්බන්ධයෙන් ම විසින් කිසිම වගකීමක් නොගන්නා බව ද මෙයින් දන්වා සිටිමි.

මීවනගේ මිහාල් ක්ලැන්සි පීරිස්,

2017 දෙසැම්බර් මස 20 වැනි දින.

01-566

---

### ලිබර්ටි මෝටර් ඇසෝසියේට්ස් (ප්‍රයිවෙට්) ලිමිටඩ් සමාගම (පීවී 9749) සමග ලිබර්ටි මෝටර් ස්ටෝර්ස් (ප්‍රයිවෙට්) ලිමිටඩ් සමාගම (පී වී 9046) සහ ලිබර්ටි ඔටෝ ස්පෙයාස් (ප්‍රයිවෙට්) ලිමිටඩ් සමාගම (පී වී 16027) ඒකාබද්ධ කිරීම

ලිබර්ටි මෝටර් ස්ටෝර්ස් (ප්‍රයිවෙට්) ලිමිටඩ් (පීවී 9046) සමාගමේ සහ ලිබර්ටි ඔටෝ ස්පෙයාස් (ප්‍රයිවෙට්) ලිමිටඩ් (පීවී 16027) සමාගමේ (''ඒකාබද්ධ කරනු ලබන සමාගම්'') සහ ලිබර්ටි මෝටර් ඇසෝසියේට්ස් (ප්‍රයිවෙට්) ලිමිටඩ් (පීවී 9749) සමාගමේ අධ්‍යක්ෂ මණ්ඩලය විසින් යෝජනා සම්මතයන් අනුමත කරනු ලැබ එමගින් 2007 අංක 7 දරන සමාගම් පනතේ 239 වන වගන්තිය ප්‍රකාරව ඒකාබද්ධ කරනු ලබන සමාගම් ලිබර්ටි මෝටර් ඇසෝසියේට්ස් (ප්‍රයිවට්) ලිමිටඩ් සමාගම සමග තනි නෛතික ඒකකයක් වශයෙන් ඒකාබද්ධ වී ලිබර්ටි මෝටර් ඇසෝසියේට්ස් (ප්‍රයිවෙට්) ලිමිටඩ් සමාගම ඒකාබද්ධ සමාගම ලෙස පවතිනු ඇත.

විශේෂ යෝජනා සම්මතයකින් වර්ෂ 2018 ක් වූ ජනවාරි මස 15 වැනි දින, 2007 අංක 7 දරන සමාගම් පනතේ 241 වන වගන්තිය ප්‍රකාරව මෙම සියලුම සමාගම්වල කොටස්හිමිකරුවන් විසින් මෙම ඒකාබද්ධ කිරීම අනුමත කිරීමට යටත් වන්නේ ය.

ඒකාබද්ධ කිරීමේ සහතිකයට යොදන දිනය නැතහොත් වර්ෂ 2018ක් වූ ජනවාරි මස 31 වැනි දිනය යන මේ දෙකින් සමාගම් රෙජිස්ට්‍රාර් ජනරාල්වරයා විසින් අනුමත කරන, කලින් එළඹෙන දින සිට එය ක්‍රියාත්මක වනු ඇත.

කොටස්හිමිකරුවකු, සුරැකුම් සහිත ණයහිමියකු හෝ මහජනයා විසින් සාමාන්‍ය ව්‍යාපාර කටයුතු කරන කාලවේලාවන්හි දී පරීක්ෂා කර බැලීම පිණිස මෙම ඒකාබද්ධ කිරීමේ යෝජනාවේ පිටපත් මෙම සමාගම්වල ලේකම්වරුන්ගේ කාර්යාලයෙහි එනම්, කොළඹ 02, වොක්ෂෝල් වීදියේ අංක 141/3 දරන ස්ථානයෙහි

චාට් බිස්නස් සිස්ටම්ස් (ප්‍රයිවට්) ලිමිටඩ් සමාගමේ තබා ඇති අතර ඒකාබද්ධ කිරීමේ යෝජනාවේ පිටපතක් ඉල්ලා සිටි විට මුදල් ගෙවීමකින් තොරව එය ලබාගත හැකි ය.

ලිබර්ටි මෝටර් ඇසෝසියේට්ස් (ප්‍රයිවට්) ලිමිටඩ්,
ලිබර්ටි ඔටෝ ස්පෙයාස් (ප්‍රයිවට්) ලිමිටඩ් සහ
ලිබර්ටි මෝටර් ස්ටෝර්ස් (ප්‍රයිවෙට්) ලිමිටඩ් හි
අධ්‍යක්ෂ මණ්ඩලයේ අණ පරිදි,
චාට් බිස්නස් සිස්ටම්ස් (ප්‍රයිවට්) ලිමටඩ්,
සමාගම් ලේකම්වරු.

01-567

---

## දැන්වීමයි

2007 අංක 07 දරන සමාගම් පනතේ 09 වැනි වගන්තිය ප්‍රකාරව පහත සඳහන් සමාගම 2018.01.04 වැනි දින සංස්ථාගත කරන ලදී.

නම : චින් ලංකා (ප්‍රයිවට්) ලිමිටඩ්
අංකය : පී වී 128641
ලිපිනය : අංක 17/26 බී, විජයබා මාවත, නාවල පාර, නුගේගොඩ.

අධ්‍යක්ෂ මණ්ඩලයේ අණ පරිදි,

අධ්‍යක්ෂ,
සී එල් සී සෙක්‍රටේරියල් සර්විසස් (ප්‍රයිවට්) ලිමිටඩ්,
ලේකම්වරු.

01-570

---

## සාමාජිකයන් ස්වේච්ඡාවෙන් ඈවර කිරීම

2007 අංක 7 දරන සමාගම් පනත 326 (1) වගන්තිය ප්‍රකාරව ඈවරකරුවෙකු පත් කිරීම පිළිබඳ නිවේදනයයි

සමාගමෙ නම : රෙඩිවෙයාර් ඉන්ඩස්ට්‍රීස් (ප්‍රයිවට්) ලිමිටඩ්
අංක 33, පාර්ක් වීදිය, කොළඹ 02.
සමාගමේ ලියාපදිංචි අංකය : පී වී 13359
ඈවරකරුගේ නම සහ ලිපිනය : රෝශිනී වැඩුඩගෙදර, අංක 277/14, නාවල මාවත, නාවල
පත්කරනු ලබන්නේ : සමාගමේ සාමාජිකයින් විසිනි
පත්කළ දිනය : 2017 දෙසැම්බර් 23 වැනි දින

එල්. ඩබ්ලිව් ඩී අබේරත්න,
අධ්‍යක්ෂ.

01-454/1

## සාමාජිකයන් ස්වේච්ඡාවෙන් ඈවර කිරීමේ යෝජනා සම්මත කරගැනීම පිළිබඳ නිවේදනයයි

2007 අංක 7 දරන සමාගම් පනතේ 320 (1) වගන්තිය ප්‍රකාරව මෙයින් නිවේදනය කරනු ලැබේ.

ස්වෙච්ඡාවෙන් සාමාජිකයින් විසින් සමාගම ඈවර කිරීම පිළිබඳ විශේෂ යෝජනා සම්මතය සමාගම විසින් යෝජනා සම්මත කර ගන්නා ලදී.

සම්මත කළ දිනය : 2017 දෙසැම්බර් මස 23 වැනි දින
සමාගමේ නම : රෙඩිවෙයාර් ඉන්ඩස්ට්‍රීස් (ප්‍රයිවට්) ලිමිටඩ්
සමාගමේ ලියාපදිංචි අංකය : පී වී 13359
ලියාපදිංචි කාර්යාලයේ ලිපිනයඃඅංක 33, පාර්ක් වීදිය, කොළඹ 02

එල්. ඩබ්ලිව් ඩී අබේරත්න,
අධ්‍යක්ෂ.

01-454/2

---

## දැන්වීමයි

2007 අංක 7 දරන සමාගම් පනතේ 9 (1) වන වගන්තිය ප්‍රකාරව පහත සඳහන් සමාගම 2017 දෙසැම්බර් මස 22 වැනි දින සංස්ථාගත කරන ලදී.

සමාගමේ නම : ඔෆග ඇනලිටික්ස් (ප්‍රයිවට්) ලිමිටඩ්
සමාගමේ අංකය : පී වී 128332
ලියාපදිංචි කාර්යාලයේ ලිපිනය : අංක 107, කොළඹතන්ත්‍රි මාවත, ඇතුල් කෝට්ටේ, කෝට්ටේ

අධ්‍යක්ෂ මණ්ඩලයේ අණ පරිදි,

බිස්නස් සොලුෂන්ස් ඇන්ඩ් සෙකට්‍රීස්
(පුද්ගලික) සමාගම.

01- 455

---

## දැන්වීමයි

ඇටෝර්නි බලපත්‍රයක් අවලංගු කිරීම සම්බන්ධවයි

ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ වයඹ පළාතේ, කුරුණෑගල දිස්ත්‍රික්කයේ, කුරුණෑගල වැහැර, විල්බාව පාර, අංක 805 දරන ලිපිනයේ පදිංචි වෙන්ගප්පුලි ආරච්චිලාගේ චමින්ද ක්‍රිෂාන්ත තිලකරත්න වන මා විසින් කුරුණෑගල ප්‍රසිද්ධ නොතාරිස් ඩබ්. ආර්. කේ. සන්දිරිගම මහත්මිය විසින් ලියා සහතික කළ අංක 762 හා 2016.01.11 දරන විශේෂ ඇටෝර්නි බලපත්‍රය 2017.12.30 දින සිට අවලංගු විය යුතු බව ද, එහි ඇටෝර්නි බලකාර කුරුණෑගල, වැහැර, විල්බාව පාර, අංක 805 හි පදිංචි අමරතුංග ආරච්චිලාගේ ශ්‍රීමති කරුණාරත්න විසින් එකී ඇටෝර්නි බලපත්‍රය මත සිදුකරනු ලබන කිසිදු ක්‍රියාවක් සම්බන්ධයෙන් ඉන් අනතුරුව කිසිදු වගකීමක් මා වෙත උද්ගත නොවන බවද, සියලු දෙනා මෙයින් දැනගත යුතු ය.

01-459

## මහජන දැන්වීමයි

2007 අංක 07 දරන සමාගම් පනත 9 (1) වගන්තිය ප්‍රකාරව පල්ලෙවෙල බ්‍රදර්ස් (ප්‍රයිවට්) ලිමිටඩ් (පෞද්ගලික) සීමිත වගකීම් සමාගමක් ලෙස 2017 නොවැම්බර් මස 30 වැනි දින සංස්ථාපනය කරන ලදී.

සමාගමේ නම : පල්ලෙවෙල බ්‍රදර්ස් (ප්‍රයිවට්) ලිමිටඩ්
සමාගම් අංකය : පී වී 127723
ලියාපදිංචි ලිපිනය : 378/7, සිංහ පෙදෙස, කොස්වත්ත පාර, කළපලුවැව, රාජගිරිය.

අධ්‍යක්ෂ මණ්ඩලයේ අණ පරිදි,

ජී. ඒ. කන්සල්ටන්ට්ස් (පුද්ගලික) සමාගම,
ප්‍රවර්ධකයෝ
දුරකතන අංක : 071 8 244 495/077 8 197 041

01-460

---

## මහජන දැන්වීමයි

2007 අංක 07 දරන සමාගම් පනත ප්‍රකාරව බඩ්ස් ඇන්ඩ් බීන්ස් (ප්‍රයිවට්) ලිමිටඩ් (පෞද්ගලික) සීමිත වගකීම් සමාගමක් ලෙස 2017 සැප්තැම්බර් මස 26 වැනි දින සංස්ථාපනය කරන ලදී.

සමාගමේ නම : බඩ්ස් ඇන්ඩ් බීන්ස් (ප්‍රයිවට්) ලිමිටඩ්
සමාගම් අංකය : පී වී 125885
ලියාපදිංචි ලිපිනය : මා ක්‍රිසෙන්ට්ස්, අංක 2 බී, 46 වැනි පටුමග, කොළඹ 06.

අධ්‍යක්ෂ මණ්ඩලයේ අණ පරිදි,

ජී. ඒ. කන්සල්ටන්ට්ස් (පුද්ගලික) සමාගම,
ලේකම්වරු.

දුරකතන අංක : 071 8 244 495/077 8 197 041

01-461

---

## මහජන දැන්වීමයි

2007 අංක 07 දරන සමාගම් පනත ප්‍රකාරව ජියොප්ලස් ටෙක්නොලොජීස් (ප්‍රයිවට්) ලිමිටඩ් (පෞද්ගලික) සීමිත වගකීම් සමාගමක් ලෙස 2017 ඔක්තෝබර් මස 04 වැනි දින සංස්ථාපනය කරන ලදී.

සමාගමේ නම : ජියොප්ලස් ටෙක්නොලොජීස් (ප්‍රයිවට්) ලිමිටඩ්
සමාගම් අංකය : පී වී 126081
ලියාපදිංචි ලිපිනය : 96/1, මෝදෙර වීදිය, කොළඹ 15

අධ්‍යක්ෂ මණ්ඩලයේ අණ පරිදි,

ජී. ඒ. කන්සල්ටන්ට්ස් (පුද්ගලික) සමාගම,
ප්‍රවර්ධකයෝ.

දුරකතන අංක : 071 8 244 495/077 8 197 041

01-462

---

## මහජන දැන්වීමයි

2007 අංක 07 දරන සමාගම් පනත ප්‍රකාරව ක්ලැන් ෆෝ කම්පැනි (ප්‍රයිවට්) ලිමිටඩ් (පෞද්ගලික) සීමිත වගකීම් සමාගමක් ලෙස 2017 ඔක්තෝබර් මස 11 වැනි දින සංස්ථාපනය කරන ලදී.

සමාගමේ නම : ක්ලැන් ෆෝ කම්පැනි (ප්‍රයිවට්) ලිමිටඩ්
සමාගම් අංකය : පී වී 126266
ලියාපදිංචි ලිපිනය : 92 ඒ, කච්චාන පාර, දෙහිවල.

අධ්‍යක්ෂ මණ්ඩලයේ අණ පරිදි,

ජී. ඒ. කන්සල්ටන්ට්ස් (පුද්ගලික) සමාගම,
ලේකම්වරු.

දුරකතන අංක : 071 8 244 495/077 8 197 041

01-463

---

## මහජන දැන්වීමයි

2007 අංක 07 දරන සමාගම් පනත ප්‍රකාරව මහවැලි ඩේරි ෆාම් (ප්‍රයිවට්) ලිමිටඩ් (පෞද්ගලික) සීමිත වගකීම් සමාගමක් ලෙස 2017 නොවැම්බර් මස 27 වැනි දින සංස්ථාපනය කරන ලදී.

සමාගමේ නම : මහවැලි ඩේරි ෆාම් (ප්‍රයිවට්) ලිමිටඩ්
සමාගම් අංකය : පී වී 127639
ලියාපදිංචි ලිපිනය : අංක 10/4, පට්ටිඹිට්ට පාර, රත්නපුර.

අධ්‍යක්ෂ මණ්ඩලයේ අණ පරිදි,

ජී. ඒ. කන්සල්ටන්ට්ස් (පුද්ගලික) සමාගම,
ලේකම්වරු.

දුරකතන අංක : 011 2 802 462/ 071 8 244 495/077 8 197 041

01-464

---

## මහජන දැන්වීමයි

2007 අංක 07 දරන සමාගම් පනත ප්‍රකාරව විශ්වාලෝක ග්ලෝබල් හෝල්ඩිංස් (ප්‍රයිවට්) ලිමිටඩ් (පෞද්ගලික) සීමිත වගකීම් සමාගමක් ලෙස 2017 නොවැම්බර් මස 10 වැනි දින සංස්ථාපනය කරන ලදී.

සමාගමේ නම : විශ්වාලෝක ග්ලෝබල් හෝල්ඩිංස් (ප්‍රයිවට්) ලිමිටඩ්
සමාගම් අංකය : පී වී 127154
ලියාපදිංචි ලිපිනය : 111/1, නුගේගලයාය, කිරිවැව, සෙවනගල.

අධ්‍යක්ෂ මණ්ඩලයේ අණ පරිදි,

ජී. ඒ. කන්සල්ටන්ට්ස් (පුද්ගලික) සමාගම,
ලේකම්වරු.

දුරකතන අංක : 011 2 802 462/ 071 8 244 495/077 8 197 041

01-465

## මහජන දැන්වීමයි

2007 අංක 07 දරන සමාගම් පනත ප්‍රකාරව රක්ෂිත ට්‍රස්ට් ඉන්වෙස්ට්මන්ට්ස් (ප්‍රයිවට්) ලිමිටඩ් (පෞද්ගලික) සීමිත වගකීම් සමාගමක් ලෙස 2017 නොවැම්බර් මස 10 වැනි දින සංස්ථාපනය කරන ලදී.

සමාගමේ නම : රක්ෂිත ට්‍රස්ට් ඉන්වෙස්ට්මන්ට්ස් (ප්‍රයිවට්) ලිමිටඩ්
සමාගම් අංකය : පී වී 127140
ලියාපදිංචි ලිපිනය : 97 1/2 සැතපුම් කණුව, ඇඹිලිපිටිය.

අධ්‍යක්ෂ මණ්ඩලයේ අණ පරිදි,

ජී. ඒ. කන්සල්ටන්ට්ස් (පුද්ගලික) සමාගම,
ලේකම්වරු.

දුරකතන අංක : 011 2 802 462/ 071 8 244 495/077 8 197 041

01-466

---

## මහජන දැන්වීමයි

2007 අංක 07 දරන සමාගම් පනත ප්‍රකාරව ඇන්සෙඩ් කන්සල්ටන්ට්ස් (ප්‍රයිවට්) ලිමිටඩ් (පෞද්ගලික) සීමිත වගකීම් සමාගමක් ලෙස 2017 ඔක්තෝබර් මස 23 වැනි දින සංස්ථාපනය කරන ලදී.

සමාගමේ නම : ඇන්සෙඩ් කන්සල්ටන්ට්ස් (ප්‍රයිවට්) ලිමිටඩ්
සමාගම් අංකය : පී වී 126540
ලියාපදිංචි ලිපිනය : 709/6ජී, බොරැල්ල පාර, තලවතුගොඩ.

අධ්‍යක්ෂ මණ්ඩලයේ අණ පරිදි,

ජී. ඒ. කන්සල්ටන්ට්ස් (පුද්ගලික) සමාගම,
ප්‍රවර්ධකයෝ.

දුරකතන අංක : 071 8 244 495/ 077 8 197 041

01-467

---

## ඇටෝර්නි බලපත්‍රයක් අවලංගු කිරීම

යාපනය දිස්ත්‍රික්කයේ, තෙල්ලිපලේ කොල්ලංකලට්ටි සඩාසප්පයි, දැනට ස්විට්සර්ලන්තයේ සුච්විල් 4528, වෙග් 4, ලෙර්චේ .(Lercheh, Weg 4, 4528 Zuchwil (CH) දරන ස්ථානයේ පදිංචි චින්නයියා තිරුනාවුක්කරසු සහ බිරිඳ සෝදිප්පිල්ලයි යන අපි යාපනය දිස්ත්‍රික්කයේ පණ්ඩතරිප්පු වඩලියඩයිප්පු දරන ස්ථානයේ පදිංචි නාගරාසා සිරිදරන් (ජා. හැ. අංකය 651992303 V) යන අයට ස්විට්සර්ලන්තයේ ජිනීවා නොතාරිස් ෆ්‍රෙඩෙරික් ඩෙලටෙනා මහතා විසින් 2011.04.15 වැනි දින සහතික කරන ලද ඇටෝර්නි බලපත්‍රය 2017.12.05 වැනි දින සිට අවලංගු කර බල රහිත කර ඇති බව ශ්‍රී ලංකා ජනරජයටත් මහජනතාවටත් මින් දන්වා සිටිමි. මින් ඉදිරියට ඉහතකී ඇටෝර්නි බලපත්‍රය මගින් කරනු ලබන්නා වූ කිසිදු ක්‍රියාවකට හෝ ගණුදෙනුවකට මා වග නොකියන බව ප්‍රකාශ කර සිටිමි.

ඇස්. තිරුනාවුක්කරසු.

01-484

---

## සංස්ථාගත කිරීමක් පිළිබඳ ප්‍රසිද්ධ නිවේදනය

2007 අංක 07 දරන සමාගම් පනතේ අංක 9 (1) වගන්තියට අනුගාමීවයි

සමාගමේ නම : චාන්ස් ලයිෆ් හෝල්ඩිංස් (ප්‍රයිවට්)ලිමිටඩ්
ලියාපදිංචි අංකය : 128449
ලියාපදිංචි ලිපිනය : 312/බී/3, නුවර පාර, කඩවත.
ඉදිරිපත් කිරීම : අධ්‍යක්ෂ මණ්ඩලයේ අණ පරිදි

ජී. පී. එන්. පෙරේරා,
සමාගම් ලේකම්.

01-485

---

## දැනුම්දීමයි

2007 අංක 7 දරන සමාගම් පනතේ 9 වගන්තියේ ප්‍රකාරව පහත නම් සඳහන් සමාගම සංස්ථාගත කළ බව මෙයින් දැනුම් දෙමු.

සමාගම් නාමය : ෂාකිස් (ප්‍රයිවට්) ලිමිටඩ්
සමාගම් අංකය : පී වී 127555
ලියාපදිංචි ලිපිනය : අංක 47, ඇලෙක්සැන්ඩ්‍රා පෙදෙස, කොළඹ 7
සංස්ථාගත කළ දිනය : 2017.11.23

කෝපරේට් ඇඩ්වයිසරි සර්විසස් (පීවීටී) එල්ටීඩී,
සමාගම් ලේකම්වරු.

01-578

---

## ඇටෝර්නි බලපත්‍රය අවලංගු කිරීම

මහනුවර බලගොල්ල කෙන්ගල්ල අංක 541 දරන ස්ථානයේ පදිංචි රාමන් එස්. ක්‍රිෂ්නන් (ජා. හැ. අංක 793294930 V) වන මා මහනුවර, කෙන්ගල්ල, ඉහළවෙල අංක 14 දරන ස්ථානයේ පදිංචි රාමසාමි සිවකුමාර් (ජා. හැ. අංක 800283825 V) යන අයට වී.එස්. අංගම්මන ප්‍රසිද්ධ නොතාරිස් තුමිය 2016.12.07 වැනි දින ලියා සහතික කළ අංක 230 දරන විශේෂ ඇටෝර්නි බලපත්‍රය මෙයින් අවලංගු කර බල රහිත කරමි.

මෙම දිනයෙන් පසු එම රාමසාමි සිවකුමාර් මෙම ඇටෝර්නි බලපත්‍රයට අදළව කරන කිසිම ක්‍රියාවකට මා වග නොකියන බව ලංකා රජයට හා මහජනතාවට මෙයින් දන්වා සිටිමි.

රාමන් එස්. ක්‍රිෂ්ණන්.

01-579

### නිවේදනයයි

පහත සඳහන් සමාගම සංස්ථාපනය කිරීම පිළිබඳ 2007 අංක 07 දරන සමාගම් පනතේ 9 (1) වගන්තිය යටතේ මෙසේ නිවේදනය කරනු ලැබේ.

ඉම්පීරියල් කැපිටල් (ප්‍රයිවට්) ලිමිටඩ්
ලියාපදිංචි අංකය : පී වී 127947
ලියාපදිංචි ලිපිනය : 447 ඒ, යුනියන් පෙදෙස, කොළඹ 02

ආර්. ටී. සෙනෙවිරත්න,
සමාගම් ලේකම්.

2017 දෙසැම්බර් 21 වැනි දින.

01-581

### ඇටෝර්නි බලය අවලංගු කිරීම

හොරොම්බුව වාරියපොල පදිංචි ජෝජ් අලහරත්නම් ප්‍රදීප් පුෂ්ප කුමාර් වන මම විසින් අංක 25, ගම්බිම්ම, දෙරටියාව, කුරුණෑගල පදිංචි දිවුල් ගහ කොටුවේ ගෙදර සකුන්තලා ජයසේන යන අයට දෙන ලද වසන්තා අමරසේකර නොතාරිස් මහත්මිය විසින් වර්ෂ 2015.12.05 වැනි දින සහතික කළ අංක 18581 දරන ඇටෝර්නි බලපත්‍රය මෙයින් අවලංගු කර දමනු ලැබේ.

01-582

### 2007 අංක 7 දරන සමාගම් පනතේ 9 (1) වගන්තිය යටතේ සමාගමක් ලියාපදිංචි කිරීම පිළිබඳව නිවේදනය කිරීම

සමාගමේ නම : ඇක්විටාස් කෝපරේට් සර්විසස් (ප්‍රයිවට්) ලිමිටඩ්
සමාගමේ අංකය : පී වී 127224
ලියාපදිංචි කාර්යාලය : 173/2A, විජයකුමාරතුංග මාවත, කොළඹ 5

ඇක්විටාස් කෝර්පරේට් සර්විසස් (ප්‍රයිවට්) ලිමිටඩ් වෙනුවෙන්,
සමාගම් ලේකම්.

01-584

### 2007 අංක 7 දරන සමාගම් පනතේ 9 (1) වගන්තිය යටතේ සමාගමක් ලියාපදිංචි කිරීම පිළිබඳව නිවේදනය කිරීම

සමාගමේ නම : ඇක්විටාස් ඉන්ටර්ලෙක්චුවල් ප්‍රොපර්ටි සර්විසස් (ප්‍රයිවට්) ලිමිටඩ්
සමාගමේ අංකය : පී වී 127231
ලියාපදිංචි කාර්යාලය:173/2A, විජයකුමාරතුංග මාවත, කොළඹ 5

ඇක්විටාස් ඉන්ටර්ලෙක්චුවල් ප්‍රොපර්ටි සර්විසස් (ප්‍රයිවට්) ලිමිටඩ් වෙනුවෙන්
සමාගම් ලේකම්.

01-585

### වගකීම් සීමාසහිත සමාගමක් සංස්ථාපනය කිරීම පිළිබඳව කරනු ලබන දැන්වීමයි

2007 අංක 07 දරන සමාගම් පනතේ 9 (1) වගන්තිය යටතේ කරනු ලබන නිවේදනයයි.

සමාගමේ නම : සයුරි ජැපෑන් ලංකා (ප්‍රයිවට්) ලිමිටඩ්
ලියාපදිංචි අංකය : පී වී 126768
ලියාපදිංචි ලිපිනය : අංක 155, අස්ගිරිය පාර, ගම්පහ
සංස්ථාගත කළ දිනය : 2017.10.30

සමාගම් ලේකම්වරු.

01- 496

### දැන්වීමයි

2007 අංක 07 දරන සමාගම් පනතේ 9 (1) වගන්තියේ ප්‍රකාරව කරනු ලබන දැනුම් දීමයි.

සමාගම් නාමය : ටීගීන් (ප්‍රයිවට්) ලිමිටඩ්
සමාගම් අංකය : පී වී 128383
ලියාපදිංචි ලිපිනය : අංක 30/84, පෙරේරා ගාර්ඩ්න්ස්, පෙරේරා මාවත ඔබ්බෙන්, පැලවත්ත, බත්තරමුල්ල.

සඳුන් ගමගේ,
සමාගම් ලේකම්.

01-497

### දැන්වීමයි

2007 අංක 07 දරන සමාගම් පනතේ 9 (1) වගන්තිය යටතේ පහත සඳහන් සමාගම සංස්ථාපනය කළ බවට කරනු ලබන නිවේදනයයි.

සමාගමේ නම : මැක්සස් මාර්කටිං (ප්‍රයිවට්) ලිමිටඩ්
සමාගමේ අංකය : PV 127914
ලියාපදිංචි ලිපිනය : අංක 07, බෝගහහේන, හෙරළියාවල, කුරුණෑගල
සංස්ථාගත කළ දිනය : 2017 දෙසැම්බර් 08.

සමාගමේ අධ්‍යක්ෂක.

01-499

## දැන්වීමයි

2007 අංක 07 දරන සමාගම් පනතේ 9 (1) වගන්තිය යටතේ නිවේදනයයි.

සමාගමේ නම : එම්. එස්. ඇන්ඩ් වාස් කම්පැනි (ප්‍රයිවට්) ලිමිටඩ්
සමාගමේ අංකය : පී. වී. 127759
ලියාපදිංචි කාර්යාලය : අංක 114/4, සාන්ත බෙනඩික්ස් මාවත, කොළඹ 13
ලියාපදිංචි කළ දිනය : 2017.12.05

සමාගමේ ලේකම්වරු.

01-500

---

## දැන්වීමයි

2007 අංක 07 දරන සමාගම් පනතේ 9 (1) වගන්තිය යටතේ නිවේදනයයි.

සමාගමේ නම : එම් එස් ඇන්ඩ් වාස් කො - සෙක්‍රටරීස් (ප්‍රයිවට්) ලිමිටඩ්
සමාගමේ අංකය : පී වී 126969
ලියාපදිංචි කාර්යාලය : අංක 114/4, සාන්ත බෙනඩික්ස් මාවත, කොළඹ 13
ලියාපදිංචි කළ දිනය : 2017.11.06

සමාගමේ ලේකම්වරු.

01-501

---

## නිවේදනයයි

පහත සඳහන් සමාගම සංස්ථාපනය කරන ලද බව 2007 අංක 07 දරන සමාගම් පනතේ 9 (1) වගන්තිය ප්‍රකාර මෙයින් නිවේදනය කරනු ලැබේ.

සමාගමේ නම : ස්ටික් නෝ බිල්ස් සිලෝන් (ප්‍රයිවට්) ලිමිටඩ්
ලියාපදිංචි කාර්යාලය : අංක 09, පල්ලිය හරස් වීදිය, ගාලුකොටුව
සංස්ථාපනය කළ දිනය : 2017 දෙසැම්බර් මස 14 වැනි දින
ලියාපදිංචි කළ අංකය : පී වී 128052

සමාගම් ලේකම්.

01-504

## ප්‍රසිද්ධ දැන්වීමයි

2007 අංක 07 දරන සමාගම් පනතේ 59 (2) වගන්තිය ප්‍රකාරව පහත සඳහන් සමාගමේ ප්‍රාග්ධනය අවකරණය පිළිබඳව මෙයින් දැනුම් දෙනු ලැබේ.

සමාගමේ නාමය : පී. ආර්. ඩී. ස්කයිලයින් (ප්‍රයිවට්) ලිමිටඩ්
සමාගමේ අංකය : පී වී 63460
සමාගමේ ලිපිනය : අංක 10, හැව්ලොක් පෙදෙස, කොළඹ 05.

අවකරණයට පෙර ප්‍රාග්ධනය : රු. 46,272,010
අවකරණයට පසු ප්‍රාග්ධනය : රු. 10
අවකරණය කරන මුදල : රු. 46,272,000

සෙක්‍රටේරියල් හවුස් (ප්‍රයිවට්) ලිමිටඩ්,
සමාගම් ලේකම්වරු.

අංක 10, හැව්ලොක් පෙදෙස,
කොළඹ 05.

01-505

---

## නිවේදනයයි

පහත සඳහන් සමාගම සංස්ථාපනය කරන ලද බව 2007 අංක 07 දරන සමාගම් පනතේ 9 (1) වගන්තිය ප්‍රකාර මෙයින් නිවේදනය කරනු ලැබේ.

සමාගමේ නම : කන්ටෙම්පරරි සිලෝන් (ප්‍රයිවට්) ලිමිටඩ්
ලියාපදිංචි කාර්යාලය : අංක 48, ඩඩ්ලි සේනානායක මාවත, කොළඹ 08
සංස්ථාපනය කළ දිනය : 2017 නොවැම්බර් 01
ලියාපදිංචි අංකය : පී වී 126901

සමාගම් ලේකම්.

01-506

---

## දැන්වීමයි

2007 අංක 07 දරන සමාගම් පනතේ 9 (1) වන වගන්තිය ප්‍රකාරව පහත සඳහන් සමාගම සංස්ථාගත කිරීමේ නිවේදනය සිදු කරයි.

සමාගමේ නම : බිලු මවුන්ටන් ඇග්‍රිගේට්ස් (පුද්ගලික) සමාගම
ලියාපදිංචි දිනය : 2017 දෙසැම්බර් 22
සමාගමේ අංකය : පී වී 128311
ලියාපදිංචි කාර්යාලයේ ලිපිනය : දියදේවතාවත්ත, රතලවැව, මහවෙල, මාතලේ.

සමාගම් අධ්‍යක්ෂවරු.

01-529

**සමාගමක නම වෙනස්වීමට අදාල ප්‍රසිද්ධ දැන්වීම**

2017 නොවැම්බර් මස 28 වැනි දින සිට බලපැවැත්වෙන පරිදි 2007 අංක 07 දරන සමාගම් පනතේ 8 (2) වගන්තිය ප්‍රකාරවයි.

සමාගමේ මුල් නම : ඉමෙඩ් සොලූෂන්ස් (ප්‍රයිවට්) ලිමිටඩ්
සමාගමේ අංකය : පී වී 86256
සමාගමේ ලියාපදිංචි කාර්යාලයේ ලිපිනය : 57/12, සිගේරා පාර, මාදිවෙල, කෝට්ටේ
වෙනස් කළ පසු සමාගමේ නම : හිස්ප් (ප්‍රයිවට්) ලිමිටඩ්

අධ්‍යක්ෂ මණ්ඩලයේ නියමය පරිදි,

ලීගල් ඇන්ඩ් කෝපරේට් කන්සල්ටන්ට්ස් (ප්‍රයිවට්) ලිමිටඩ්,
සමාගම් ලේකම්.

01-533

---

**දැන්වීමයි**

2007 අංක 07 දරන සමාගම් පනත

**කොස්ටා කැපිටල් සිලෝන් (ප්‍රයිවට්) ලිමිටඩ්**

පී වී 124215

ඉහත සඳහන් සමාගම 2017 ජූලි මස 26 වැනි දින සංස්ථාගත කළ බව සහ එහි ලියාපදිංචි කාර්යාලය අංක 227/12, චන්ද්‍රවිමල මාවත, තලපත්පිටිය පාර, නුගේගොඩ යන ලිපිනයේ පවත්වාගෙන යන බව 2007 අංක 07 දරන සමාගම් පනතේ 9 (1) වගන්තිය යටතේ මෙයින් දැනුම් දෙමි.

ලීගල් ඇන්ඩ් කෝපරේට් කන්සල්ටන්ට්ස් (ප්‍රයිවට්) ලිමිටඩ්,
ලියාපදිංචි සමාගම් ලේකම්වරු.

24 ඒ, 2 වන පටුමග,
පෙතියාගොඩ, කැලණිය.

01-534

---

**දැන්වීමයි**

2007 අංක 07 දරන සමාගම් පනත

**ද ලයන් කිංඩම් (ප්‍රයිවට්) ලිමිටඩ්**

පී වී 127162

ඉහත සඳහන් සමාගම 2017 ජූලි මස 26 වැනි දින සංස්ථාගත කළ බව සහ එහි ලියාපදිංචි කාර්යාලය අංක 139/සී, පන්සල හන්දිය, දියගම්පත, කිඹිස්ස, ශ්‍රී ලංකාව යන ලිපිනයේ පවත්වාගෙන යන බව 2007 අංක 07 දරන සමාගම් පනතේ 9 (1) වගන්තිය යටතේ මෙයින් දැනුම් දෙමි.

ලීගල් ඇන්ඩ් කෝපරේට් කන්සල්ටන්ට්ස් (ප්‍රයිවට්) ලිමිටඩ්,
ලියාපදිංචි සමාගම් ලේකම්වරු .

24 ඒ, 2 වන පටුමග,
පෙතියාගොඩ, කැලණිය.

01-535

---

**දැන්වීමයි**

**2007 අංක 07 දරන සමාගම් පනතේ 9 (1) වන වගන්තිය යටතේ කෙරෙන නිවේදනයයි**

සමාගමේ නම : සෙරන්ඩිබ් ඉන්ටර්නැෂනල් ඉම්පෝට්ස් ඇන්ඩ් එක්ස්පෝට්ස් (ප්‍රයිවට්) ලිමිටඩ්
ලියාපදිංචි අංකය : පී වී 127943
සංස්ථාගත කළ දිනය : 2017 දෙසැම්බර් මස 11 වැනි දින
ලියාපදිංචි ලිපිනය : අංක 184, 186/602, 02 වන හරස් වීදිය, කොළඹ 11

අහ්මඩ් ඉම්රාන් ඉර්ෆානා,
සමාගමේ ලේකම්.

01-536

---

**දැන්වීමයි**

2007 අංක 07 දරන සමාගම් පනත

**සමර් රෝස් ගාර්ඩන්ස් (ප්‍රයිවට්) ලිමිටඩ්**

පී වී 122733

ඉහත සඳහන් සමාගම 2017 මැයි මස 31 වැනි දින සංස්ථාගත කළ බව සහ එහි ලියාපදිංචි කාර්යාලය අංක 130/2, එස්. ද එස්. ජයසිංහ මාවත, නුගේගොඩ, යන ලිපිනයේ පවත්වාගෙන යන බව 2007 අංක 07 දරන සමාගම් පනතේ 9 (1) වගන්තිය යටතේ මෙයින් දැනුම් දෙමි.

ලීගල් ඇන්ඩ් කෝපරේට් කන්සල්ටන්ට්ස් (ප්‍රයිවට්) ලිමිටඩ්,
ලියාපදිංචි සමාගම් ලේකම්වරු.

24 ඒ, 2 වන පටුමග,
පෙතියාගොඩ,
කැලණිය.

01-577

**දැන්වීමයි**

**2007 අංක 07 දරන සමාගම් පනතේ 59 (1) වන වගන්තිය ප්‍රකාර ඩබ්ලිව් කේ වී හයිඩ්‍රො ටෙක්නික්ස් (ප්‍රයිවට්) ලිමිටඩ් සමාගමේ ප්‍රකාශ කළ ප්‍රාග්ධනය අවකරණය කිරීම පිළිබඳ දැන්වීම**

ඩබ්ලිව් කේ වී හයිඩ්‍රො ටෙක්නික්ස් (ප්‍රයිවට්) ලිමිටඩ් සමාගමේ (ලියාපදිංචි අංක පීවී 11882 දරන) කොටස් හිමියා විසින් එකී සමාගමේ කොටස් නිදහස් කිරීම නිවැරදිව පෙන්නුම් කිරීම පිණිස 2018 ජනවාරි මස 17 වැනි දින දරන විශේෂ යෝජනා සම්මතය මගින් එකී සමාගමේ ප්‍රකාශ කළ ප්‍රාග්ධනය වරණීය කොටස් විසිදහස් අටසිය අනූඅටක (20,898) ප්‍රමාණයකට සමාන වන ශ්‍රී ලංකා රුපියල් අටකෝටි දහතුන්ලක්ෂ හතළිස් තුන්දහසකින් (ශ්‍රී. ලං. රුපි. 81,343,000) අවකරණය කිරීමට යෝජනා කර ඇත.

සමාගමේ ප්‍රකාශ කළ ප්‍රාග්ධනයේ පසු අවකරණය කොටස් එක්ලක්ෂ පනස්තුන්දහස් අටසිය පනහක (153,850) ප්‍රමාණයකට සමාන වන ශ්‍රී ලංකා රුපියල් නවකෝටි තිස්හතරලක්ෂ පන්දහසක් (ශ්‍රී.ලං.රු. 93,405,000) විය යුතු බවට යෝජනා කරනු ලැබේ.

ප්‍රකාශ කළ ප්‍රාග්ධනයේ අවකරණය 2018 මාර්තු මස 19 වැනි දින හෝ ඊට පසුව ක්‍රියාත්මක වන අතර, ප්‍රකාශ කළ ප්‍රාග්ධනයේ යෝජිත අවකරණය පිළිබඳව දින 60 ක කාලයක දැන්වීම මෙයින් ලබාදෙනු ලැබේ.

ඩබ්ලිව් කේ වී හයිඩ්‍රො ටෙක්නික්ස් (ප්‍රයිවට්) ලිමිටඩ්.

01-810/1

---

**දැන්වීමයි**

**2007 අංක 07 දරන සමාගම් පනතේ 59 (1) වන වගන්තිය ප්‍රකාර වෙස්වින් කන්ස්ට්‍රක්ෂන් නක්කාවිට (ප්‍රයිවට්) ලිමිටඩ් සමාගමේ ප්‍රකාශ කළ ප්‍රාග්ධනය අවකරණය කිරීම පිළිබඳ දැන්වීම**

වෙස්වින් කන්ස්ට්‍රක්ෂන් නක්කාවිට (ප්‍රයිවට්) ලිමිටඩ් සමාගමේ (ලියාපදිංචි අංක පීවී 13765 දරන) කොටස් හිමියා විසින් එකී සමාගමේ කොටස් නිදහස් කිරීම නිවැරදිව පෙන්නුම් කිරීම පිණිස 2018 ජනවාරි මස 17 වැනි දින දරන විශේෂ යෝජනා සම්මතය මගින් එකී සමාගමේ ප්‍රකාශ කළ ප්‍රාග්ධනය වරණීය කොටස් එක්කෝටි තිස්දෙලක්ෂ තිස්නවදහස් තිස්පහක (13,239,035) ප්‍රමාණයකට සමාන වන ශ්‍රී ලංකා රුපියල් දහතුන්කෝටි විසිතුන්ලක්ෂ අනූදහසකින් (ශ්‍රී.ල.රුපි. 132,390,000) අවකරණය කිරීමට යෝජනා කර ඇත.

සමාගමේ ප්‍රකාශ කළ ප්‍රාග්ධනයේ පසු අවකරණය කොටස් අසූඑක් ලක්ෂ අනූහයදහස් හයසිය අනූපහක (8,196,695) ප්‍රමාණයකට සමාන වන ශ්‍රී ලංකා රුපියල් අටකෝටි දහනවලක්ෂ හැටහයදහස් නවසිය හතළිස් හයක් (ශ්‍රී.ලං.රු. 81,966,946) විය යුතු බවට යෝජනා කරනු ලැබේ.

ප්‍රකාශ කළ ප්‍රාග්ධනයේ අවකරණය 2018 මාර්තු මස 19 වැනි දින හෝ ඊට පසුව ක්‍රියාත්මක වන අතර, ප්‍රකාශ කළ ප්‍රාග්ධනයේ යෝජිත අවකරණය පිළිබඳව දින 60 ක කාලයක දැන්වීම මෙයින් ලබාදෙනු ලැබේ.

වෙස්වින් කන්ස්ට්‍රක්ෂන් නක්කාවිට (ප්‍රයිවට්) ලිමිටඩ්.

01-810/2

---

**දැන්වීමයි**

**2007 අංක 07 දරන සමාගම් පනතේ 59 (4) වන වගන්තිය සමඟ කියවිය යුතු 59(1) වන වගන්තිය ප්‍රකාර අප්කන්ට්‍රි පවර් සප්ලයි ඉන්ටර්නැෂනල් (ප්‍රයිවට්) ලිමිටඩ් සමාගමේ ප්‍රකාශ කළ ප්‍රාග්ධනය අවකරණය කිරීම පිළිබඳ දැන්වීම**

අප්කන්ට්‍රි පවර් සප්ලයි ඉන්ටර්නැෂනල් (ප්‍රයිවට්) ලිමිටඩ් සමාගමේ (ලියාපදිංචි අංක පීවී 14760 දරන) කොටස් හිමියා විසින් එකී සමාගමේ කොටස් නිදහස් කිරීම නිවැරදිව පෙන්නුම් කිරීම පිණිස 2018 ජනවාරි මස 17 වැනි දින දරන විශේෂ යෝජනා සම්මතය මගින් එකී සමාගමේ ප්‍රකාශ කළ ප්‍රාග්ධනය කොටස් එක්කෝටි පන්ලක්ෂ හයදහස් දෙසිය විස්සක (10,506,220) ප්‍රමාණයකට සමාන වන ශ්‍රී ලංකා රුපියල් නවකෝටි අසූහතරලක්ෂ එක්දහසකින් (ශ්‍රී. ලං. රු. 98,401,000) අවකරණය කිරීමට යෝජනා කර ඇත.

සමාගමේ ප්‍රකාශ කළ ප්‍රාග්ධනයේ පසු අවකරණය කොටස් හත්කෝටි අසූනවලක්ෂ විසිපන්දහස් අටසිය දහතුනක (78,925,813) ප්‍රමාණයකට සමාන වන ශ්‍රී ලංකා රුපියල් අසූඅටකෝටි අසූනවලක්ෂ හැටනවදහසක් (ශ්‍රී. ලං. රුපි. 888,969,000) විය යුතු බවට යෝජනා කරනු ලැබේ.

ප්‍රකාශ කළ ප්‍රාග්ධනයේ අවකරණය 2018 මාර්තු මස 19 වැනි දින හෝ ඊට පසුව ක්‍රියාත්මක වන අතර, ප්‍රකාශ කළ ප්‍රාග්ධනයේ යෝජිත අවකරණය පිළිබඳව දින 60 කාලයක දැන්වීම මෙයින් ලබාදෙනු ලැබේ.

අප්කන්ට්‍රි පවර් සප්ලයි ඉන්ටර්නැෂනල් (ප්‍රයිවට්) ලිමිටඩ්.

01-810/3

### දැන්වීමයි

### 2007 අංක 07 දරන සමාගම් පනතේ 59 (1) වන වගන්තිය ප්‍රකාර තැන්නේවත්ත මිනි හයිඩ්‍රෝ පවර් හෝල්ඩින්ග්ස් (ප්‍රයිවට්) ලිමිටඩ් සමාගමේ ප්‍රකාශ කළ ප්‍රාග්ධනය අවකරණය කිරීම පිළිබඳ දැන්වීම

තැන්නේවත්ත මිනි හයිඩ්‍රෝ පවර් හෝල්ඩින්ග්ස් (ප්‍රයිවට්) ලිමිටඩ් සමාගමේ (ලියාපදිංචි අංක පීවී 87723 දරන) කොටස් හිමියා විසින් එකී සමාගමේ වරණීය කොටස් නිදහස් කිරීම නිවැරදිව පෙන්නුම් කිරීම පිණිස 2018 ජනවාරි මස 17 වැනි දින දරන විශේෂ යෝජනා සම්මතය මගින් එකී සමාගමේ ප්‍රකාශ කළ ප්‍රාග්ධනය කොටස් එකොළොස්ලක්ෂ අනූඅටදහස් හයසිය දෙළහක (1,198,612) ප්‍රමාණයකට සමාන වන ශ්‍රී ලංකා රුපියල් එක්කෝටි දහනව ලක්ෂ අසූහයදහස් එකසිය දහඅටකින් (ශ්‍රී. ලං. රුපි. 11,986,118) අවකරණය කිරීමට යෝජනා කර ඇත.

සමාගමේ ප්‍රකාශ කළ ප්‍රාග්ධනයේ පසු අවකරණය කොටස් හැටපන්ලක්ෂ පනස්එක් දහස් තුන්සිය අසූනවයක (6,551,389) ප්‍රමාණයකට සමාන වන ශ්‍රී ලංකා රුපියල් හයකෝටි පනස්පන්ලක්ෂ දහතුන් දහස් අටසිය අනූ දෙකක් ශ්‍රී. ලං. රු. 65,513,892) විය යුතු බවට යෝජනා කරනු ලැබේ.

ප්‍රකාශ කළ ප්‍රාග්ධනයේ අවකරණය 2018 මාර්තු මස 19 වැනි දින හෝ ඊට පසුව ක්‍රියාත්මක වන අතර, ප්‍රකාශ කළ ප්‍රාග්ධනයේ යෝජිත අවකරණය පිළිබඳව දින 60 ක කාලයක දැන්වීම මෙයින් ලබාදෙනු ලැබේ.

තැන්නේවත්ත මිනි හයිඩ්‍රෝ පවර්
හෝල්ඩින්ග්ස් (ප්‍රයිවට්) ලිමිටඩ්.

01-810/4

---

### දැන්වීමයි

### 2007 අංක 07 දරන සමාගම් පනතේ 59 (1) වන වගන්තිය ප්‍රකාර සමන්ගිරි හයිඩ්‍රෝ ඉලෙක්ට්‍රික් (ප්‍රයිවට්) ලිමිටඩ් සමාගමේ ප්‍රකාශ කළ ප්‍රාග්ධනය අවකරණය කිරීම පිළිබඳ දැන්වීම

සමන්ගිරි හයිඩ්‍රෝ ඉලෙක්ට්‍රික් (ප්‍රයිවට්) ලිමිටඩ් සමාගමේ (ලියාපදිංචි අංක පීවී 13650 දරන) කොටස් හිමියා විසින් එකී සමාගමේ වරණීය කොටස් නිදහස් කිරීම නිවැරදිව පෙන්නුම් කිරීම පිණිස 2018 ජනවාරි මස 17 වැනි දින දරන විශේෂ යෝජනා සම්මතය මගින් එකී සමාගමේ ප්‍රකාශ කළ ප්‍රාග්ධනය වරණීය කොටස් පනස්පන්ලක්ෂ හැටඑක්දහස් තුන්සිය අනූපහක (5,561,395) ප්‍රමාණයකට සමාන වන ශ්‍රී ලංකා රුපියල් පන්කෝටි හැත්තෑනවලක්ෂ පනස්අටදහස් හයසිය විසිනවයකින් (ශ්‍රී. ලං. රුපි. 57,958,629) අවකරණය කිරීමට යෝජනා කර ඇත.

සමාගමේ ප්‍රකාශ කළ ප්‍රාග්ධනයේ පසු අවකරණය කොටස් එක්කෝටි හැත්තෑඑක්ලක්ෂ හැත්තෑහතරදහස් තුන්සිය විස්සක (17,174,320) ප්‍රමාණයකට සමාන වන ශ්‍රී ලංකා රුපියල් විසිදෙකෝටි පනස්ලක්ෂ දෙළොස්දහසක් (ශ්‍රී. ලං. රුපි. 225,012,000) විය යුතු බවට යෝජනා කරනු ලැබේ.

ප්‍රකාශ කළ ප්‍රාග්ධනයේ අවකරණය 2018 මාර්තු මස 19 වැනි දින හෝ ඊට පසුව ක්‍රියාත්මක වන අතර, ප්‍රකාශ කළ ප්‍රාග්ධනයේ යෝජිත අවකරණය පිළිබඳව දින 60 කාලයක දැන්වීම මෙයින් ලබාදෙනු ලැබේ.

සමන්ගිරි හයිඩ්‍රෝ ඉලෙක්ට්‍රික් (ප්‍රයිවට්) ලිමිටඩ්.

01-810/5

---

### දැන්වීමයි

### 2007 අංක 07 දරන සමාගම් පනතේ 59 (1) වන වගන්තිය ප්‍රකාර පැන්ටක් පවර් (ප්‍රයිවට්) ලිමිටඩ් සමාගමේ ප්‍රකාශ කළ ප්‍රාග්ධනය අවකරණය කිරීම පිළිබඳ දැන්වීම

පැන්ටක් පවර් (ප්‍රයිවට්) ලිමිටඩ් සමාගමේ (ලියාපදිංචි අංක පීවී 6783 දරන) කොටස් හිමියා විසින් එකී සමාගමේ වරණීය කොටස් නිදහස් කිරීම නිවැරදිව පෙන්නුම් කිරීම පිණිස 2018 ජනවාරි මස 17 වැනි දින දරන විශේෂ යෝජනා සම්මතය මගින් එකී සමාගමේ ප්‍රකාශ කළ ප්‍රාග්ධනය වරණීය කොටස් විසිඑක් ලක්ෂ විසිහයදහස් එකසිය අනූවක (2,126,190) ප්‍රමාණයකට සමාන වන ශ්‍රී ලංකා රුපියල් දෙකෝටි පනස්හතරලක්ෂ තිස්තුන් දහස් අටසිය දහසයකින් (ශ්‍රී.ලං.රුපි. 25,433,816) අවකරණය කිරීමට යෝජනා කර ඇත.

සමාගමේ ප්‍රකාශ කළ ප්‍රාග්ධනයේ පසු අවකරණය කොටස් දෙකෝටි විසිලක්ෂ අනූනවදහස් දෙසිය හැටඅටක (22,099,268) ප්‍රමාණයකට සමාන වන ශ්‍රී ලංකා රුපියල් විසිතුන්කෝටි අසූලක්ෂ අසූතුන්දහසක් (ශ්‍රී.ලං.රුපි. 238,083,000) විය යුතු බවට යෝජනා කරනු ලැබේ.

ප්‍රකාශ කළ ප්‍රාග්ධනයේ අවකරණය 2018 මාර්තු මස 19 වැනි දින හෝ ඊට පසුව ක්‍රියාත්මක වන අතර, ප්‍රකාශ කළ ප්‍රාග්ධනයේ යෝජිත අවකරණය පිළිබඳව දින 60 කාලයක දැන්වීම මෙයින් ලබාදෙනු ලැබේ.

පැන්ටක් පවර් (ප්‍රයිවට්) ලිමිටඩ්.

01-810/6

## දැන්වීමයි

### 2007 අංක 07 දරන සමාගම් පනතේ 59 (1) වන වගන්තිය ප්‍රකාර මාත් හයිඩ්‍රො පවර් (ප්‍රයිවට්) ලිමිටඩ් සමාගමේ ප්‍රකාශ කළ ප්‍රාග්ධනය අවකරණය කිරීම පිළිබඳ දැන්වීම

මාත් මයිඩ්‍රො පවර් (ප්‍රයිවට්) ලිමිටඩ් සමාගමේ (ලියාපදිංචි අංක පීවී 12194 දරන) කොටස් හිමියා විසින් එකී සමාගමේ වරණීය කොටස් නිදහස් කිරීම නිවැරදිව පෙන්නුම් කිරීම පිණිස 2018 ජනවාරි මස 17 වැනි දින දරන විශේෂ යෝජනා සම්මතය මගින් එකී සමාගමේ ප්‍රකාශ කළ ප්‍රාග්ධනය කොටස් තිස්හතරලක්ෂ විසිනවදහස් හයසිය අටක (3,429,608) ප්‍රමාණයකට සමාන වන ශ්‍රී ලංකා රුපියල් තුන්කෝටි හතළිස් තුන් ලක්ෂ හැටහතර දහස් හයසිය හැත්තෑ දෙකකින් (ශ්‍රී. ලං. රුපි. 34,364,672) අවකරණය කිරීමට යෝජනා කර ඇත.

සමාගමේ ප්‍රකාශ කළ ප්‍රාග්ධනයේ පසු අවකරණය කොටස් පන්කෝටි තිස්තුන්ලක්ෂ හැටතුන්දහස් පන්සිය අසූනවයක (53,363,589) ප්‍රමාණයකට සමාන වන ශ්‍රී ලංකා රුපියල් පනස්හයකෝටි හැත්තෑඅටලක්ෂ හැටතුන්දහසක් (ශ්‍රී.ලං. රුපි. 567,863,000) විය යුතු ය.

ප්‍රකාශ කළ ප්‍රාග්ධනයේ අවකරණය 2018 මාර්තු මස 19 වැනි දින හෝ ඊට පසුව ක්‍රියාත්මක වන අතර, ප්‍රකාශ කළ ප්‍රාග්ධනයේ යෝජිත අවකරණය පිළිබඳව දින 60 ක කාලයක දැන්වීම මෙයින් ලබාදෙනු ලැබේ.

මාත් හයිඩ්‍රො පවර් (ප්‍රයිවට්) ලිමිටඩ්.

01-810/7

---

## දැන්වීමයි

### 2007 අංක 07 දරන සමාගම් පනතේ 59 (4) වන වගන්තිය සමග කියවිය යුතු 59(1) වන වගන්තිය ප්‍රකාර හින්ෆෝර්ඩ් වෝටර් පවර් (ප්‍රයිවට්) ලිමිටඩ් සමාගමේ ප්‍රකාශ කළ ප්‍රාග්ධනය අවකරණය කිරීම පිළිබඳ දැන්වීම

හින්ෆෝර්ඩ් වෝටර් පවර් (ප්‍රයිවට්) ලිමිටඩ් සමාගමේ (ලියාපදිංචි අංක පීවී 2052 දරන) කොටස් හිමියා විසින් එකී සමාගමේ වරණීය කොටස් නිදහස් කිරීම නිවැරදිව පෙන්නුම් කිරීම පිණිස 2018 ජනවාරි මස 17 වැනි දින දරන විශේෂ යෝජනා සම්මතය මගින් එකී සමාගමේ ප්‍රකාශ කළ ප්‍රාග්ධනය කොටස් දෙකෝටි තිස්හතරලක්ෂ දහහත්දහස් තිස්නවයක (23,417,039) ප්‍රමාණයකට සමාන වන ශ්‍රී ලංකා රුපියල් විසිහයකෝටි හැත්තෑදෙලක්ෂ හතළිස් පන් දහසකින් (ශ්‍රී.ලං. රුපි. 267,245,000) අවකරණය කිරීමට යෝජනා කර ඇත.

සමාගමේ ප්‍රකාශ කළ ප්‍රාග්ධනයේ පසු අවකරණය කොටස් එක් කෝටි තිස් හයලක්ෂ අසූහත්දහස් හාරසිය තිස්අටක (13,687,438) ප්‍රමාණයකට සමාන වන ශ්‍රී ලංකා රුපියල් දහනවකෝටි හාරලක්ෂ හයදහසක් (ශ්‍රී. ලං. රුපි. 190,406,000) විය යුතු බවට යෝජනා කරනු ලැබේ.

ප්‍රකාශ කළ ප්‍රාග්ධනයේ අවකරණය 2018 මාර්තු මස 19 වැනි දින හෝ ඊට පසුව ක්‍රියාත්මක වන අතර, ප්‍රකාශ කළ ප්‍රාග්ධනයේ යෝජිත අවකරණය පිළිබඳව දින 60 කාලයක දැන්වීම මෙයින් ලබාදෙනු ලැබේ.

හින්ෆෝර්ඩ් වෝටර් පවර් (ප්‍රයිවට්) ලිමිටඩ්.

01-810/8

---

## දැන්වීමයි

### 2007 අංක 07 දරන සමාගම් පනතේ 59 (1) වන වගන්තිය ප්‍රකාර දිදුල් (ප්‍රයිවට්) ලිමිටඩ් සමාගමේ ප්‍රකාශ කළ ප්‍රාග්ධනය අවකරණය කිරීම පිළිබඳ දැන්වීම

දිදුල් (ප්‍රයිවට්) ලිමිටඩ් සමාගමේ (ලියාපදිංචි අංක පීවී 2027 දරන) කොටස් හිමියා විසින් එකී සමාගමේ වරණීය කොටස් නිදහස් කිරීම නිවැරදිව පෙන්නුම් කිරීම පිණිස 2018 ජනවාරි මස 17 වැනි දින දරන විශේෂ යෝජනා සම්මතය මගින් එකී සමාගමේ ප්‍රකාශ කළ ප්‍රාග්ධනය වරණීය කොටස් දෙකෝටි දහහතර ලක්ෂ පනස් දහස් එකසිය විසිහයක (21,450,126) ප්‍රමාණයකට සමාන වන ශ්‍රී ලංකා රුපියල් විසිඑක්කෝටි හත්ලක්ෂ හතළිස්නවදහස් දෙසිය හතළිස් අටකින් (ශ්‍රී. ලං. රුපි. 210,749,248) අවකරණය කිරීමට යෝජනා කර ඇත.

සමාගමේ ප්‍රකාශ කළ ප්‍රාග්ධනයේ පසු අවකරණය කොටස් දෙළොස්කෝටි හතළිස්නව ලක්ෂ දෙදහස් පන්සිය හැටහයක (124,902,566) ප්‍රමාණයකට සමාන වන ශ්‍රී ලංකා රුපියල් එකසිය හතළිස්හයකෝටි හැත්තෑදෙලක්ෂ හැත්තෑනවදහසක් (ශ්‍රී.ලං.රුපි. 1,467,279,000) විය යුතු ය.

ප්‍රකාශ කළ ප්‍රාග්ධනයේ අවකරණය 2018 මාර්තු මස 19 වැනි දින හෝ ඊට පසුව ක්‍රියාත්මක වන අතර, ප්‍රකාශ කළ ප්‍රාග්ධනයේ යෝජිත අවකරණය පිළිබඳව දින 60 කාලයක දැන්වීම මෙයින් ලබාදෙනු ලැබේ.

දිදුල් (ප්‍රයිවට්) ලිමිටඩ්.

01-810/9

# වෙන්දේසි කිරීම් පිළිබඳ දැන්වීම්

## මහජන බැංකුව - නුගේගොඩ ශාඛාව

1986 අංක 32 දරන පනත මගින් සංශෝධිත 1961 අංක 29 දරන මහජන බැංකු පනතේ 29 ඈ වගන්තිය යටතේ වටිනා දේපළක් ප්‍රසිද්ධ වෙන්දේසියේ විකිණීම

බස්නාහිර පළාතේ, ගම්පහ දිස්ත්‍රික්කයේ, දකුණු අළුත්කුරු කෝරළේ රාගම් පත්තුවේ, රාගම පිහිටියාවූ ද, මාරගහවත්ත, මීගහවත්ත, කෝන්ගහවත්ත, හෙවත් කහටගහවත්ත සහ කැටකෑලගහවත්ත යැයි කියනු ලබන ඉඩමේ බලයලත් මිනින්දෝරු ජී. එම්. කමල් පෙරේරා විසින් සාදන ලද අංක 212/2007 හා 2007.07.19 වැනි දින දරන පිඹුරේ ලොට් අංක 01 ලෙස ලකුණු කොට නිරූපණය කර ඇත්තාවූ ද, උතුරට අංක 1853 දරන පිඹුරේ ලොට් අංක 03 හි ඉතිරි කොටස ද, නැගෙනහිරට : පාර ද, දකුණට : (අංක 1853 පිඹුරේ ලොට් අංක බී වන) පාර ද, බස්නාහිරට : අංක 1853 පිඹුරේ ලොට් අංක 15 ද, මායිම් වන්නාවූ ද, පර්චස් දහතුනක් (අ. 0 රූ. 0 පර්. 13.0) ක් විශාලවූ ද, බෙදා වෙන් කරන ලද මුළු ඉඩම් කොටස සහ එහි පස, එහි පිහිටි ගොඩනැගිලි, ගහකොළ වැවිලි හා වෙනත් සියලු දේත් ය.

ඉහත සඳහන් ලොට් අංක 01 පහත දැක්වෙන ඉඩමේ නැවත මැනීමකි.

බස්නාහිර පළාතේ, ගම්පහ දිස්ත්‍රික්කයේ, දකුණු අළුත්කුරු කෝරළේ, රාගම් පත්තුවේ, රාගම තේවත්ත පාරේ පිහිටියාවූ ද, මාරගහවත්ත මීගහවත්ත කෝන්ගහවත්ත හෙවත් කහටගහවත්ත සහ කැටකෑලගහවත්ත යැයි කියනු ලබන ඉඩමේ බලයලත් මිනින්දෝරු ඩබ්. බී. එල්. ප්‍රනාන්දු විසින් සාදන ලද අංක 1166 හා 1993.03.26 වැනි දින දරන පිඹුරේ ලොට් අංක 3 ඒ ලෙස ලකුණු කොට නිරූපණය කර ඇත්තාවූ ද, උතුරට : බලයලත් මිනින්දෝරු එස්. ජගදීසන් විසින් සාදන ලද අංක 1853 හා 1972.02.12 වැනිදින දරන පිඹුරේ ලොට් අංක 03 හි ඉතිරි කොටස ද, නැගෙනහිරට : පාරද, දකුණට : (එකී අංක 1853 පිඹුරේ ලොට් අංක බී වන) පාර ද, බස්නාහිරට : ඉහත කී අංක 1853 පිඹුරේ ලොට් අංක 15 ද, මායිම් වන්නාවූ ද, පර්චස් දහතුනක් (අ. 0 රූ. 0 පර්. 13.0) ක් විශාල වූ ද, බෙදා වෙන් කරන ලද මුලු ඉඩම් කොටස සහ එහි පස, එහි පිහිටි ගොඩනැගිලි ගහකොළ, වැවිලි හා වෙනත් සියලු දේත් ය.

ඉහත කී ලොට් 3 ඒ පහත විස්තර කෙරෙන ලොට් අංක 3න් බෙදා වෙන් කරන ලද ඉඩම් කොටසකි.

බස්නාහිර පළාතේ, ගම්පහ දිස්ත්‍රික්කයේ, දකුණු අලුත්කුරු කෝරළේ, රාගම් පත්තුවේ, රාගම තේවත්ත පාරේ පිහිටියාවූ ද, මාරගහවත්ත, මීගහවත්ත, කෝන්ගහවත්ත, හෙවත් කහටගහවත්ත සහ කැටකෑලගහවත්ත, යැයි කියනු ලබන ඉඩමේ බලයලත් මිනින්දෝරු එස්. ජගදීසන් විසින් සාදන ලද අංක 1853 හා 1972.02.12 වැනි දින දරන පිඹුරේ ලොට් අංක 3 ලෙස ලකුණු කොට නිරූපණය කර ඇත්තාවූ ද, උතුරට : එකී පිඹුරේ ලොට් අංක 04 ද, නැගෙනහිරට : පාර ද, දකුණට (අඩි 15ක් පළල පාර සඳහා වෙන් කිරීම වන) ලොට් බී කොටස ද, බස්නාහිරට : අංක 1853 පිඹුරේ ලොට් අංක 15 ද, මායිම් වන්නාවූ ද, පර්චස් දහසයයි දශ ම දෙකයි බිංදුවක් (අ. 0 රූ. 0 පර්. 16.20) ක් විශාල වූ ද, බෙදා වෙන් කරන ලද මුළු ඉඩම් කොටස එහි පස, හා එහි පිහිටි ගොඩනැගිලි, ගහකොළ වැවිලි හා වෙනත් සියලු දේත් ය.

මෙහි පහත වැඩිමනක් ම විස්තර කෙරෙන, එකී අංක 1853 හා 1972.02.12 වැනි දින දරන පිඹුරේ ලොට් බී ලෙස ලකුණු කළ පාර සඳහා වෙන් කර ඇති ඉඩම් කොටස හරහා මාර්ග ප්‍රවේශ අයිතිය ද මීට ඇතුලත් වේ.

ඉහත කී රාගම තේවත්ත පාරේ පිහිටියාවූ ද මාරගහවත්ත මීගහවත්ත, කෝන්ගහවත්ත හෙවත් කහටගහවත්ත සහ කැටකෑලගහවත්ත යැයි කියනු ලබන ඉඩමේ ඉහත කී අංක 1853 දරන පිඹුරේ ලොට් බී (අඩි 15ක් පළල පාර සඳහා වෙන් කිරීම) ලෙස ලකුණු කර ඇත්තාවූ ද, උතුරට ලොට් අංක 03 ද, නැගෙනහිරට : පාර ද, දකුණට : ලොට් අංක 02 හා ලොට් අංක 16 ද, බස්නාහිරට : ලොට් අංක 15 හා 16 ද, මායිම් වන්නාවූ ද, පර්චස් තුනයි දශම හතයි බිංදුවක් (අ. 0 රූ. 0 පර්. 3.70) විශාල වූ ද, බෙදා වෙන් කරන ලද මුලු ඉඩම් කොටස, එහි බිම හා එහි පිහිටි ගොඩනැගිලි, ගහකොළ වැවිලි හා වෙනත් සියලු දේත් ය.

මහජන බැංකුව විසින් මා වෙත පවරන ලද බලය යටතේ මා විසින් වර්ෂ 2018 පෙබරවාරි මස 17 වැනි දින පෙරවරු 10.30 ට දේපළ පිහිටි ස්ථානයේ දී ප්‍රසිද්ධ වෙන්දේසියේ විකුණනු ලැබේ.

*දේපළට පිවිසීම.* - කොළඹ මීගමුව ප්‍රධාන මාර්ගයේ මහබාගේ හන්දියෙන් දකුණට ඇති රාගම පාර ඔස්සේ කිලෝ මීටර් 3ක් පමණ යන විට ඇති රාගම දුම්රිය ස්ථානයෙන් වම් පසින් ඇති තේ වත්ත පාරේ තවත් මීටර් 400ක් පමණ ගිය විට හමුවන ලීසන්ස් රෝහලට වම් පසින් ඇති අරලිය උයන පාර ඔස්සේ මීටර් 50ක් පමණ පැමිණි විට එම පාරට මායිම්ව වම් පසින් අංක 35/4 දරන ස්ථානයේ පිහිටි දේපළ වේ.

වැඩි විස්තර සඳහා 2017.12.13 දිනැති දිනමිණ හා Daily News පුවත් පත් වල පළ වූ වෙන්දේසි යෝජනාව සහ 2017.11.30 වැනි දින ගැසට් පත්‍රයට අවධානය යොමු කරන්න.

*ගෙවීමේ ක්‍රමය.* - වෙන්දේසිය අවසානයේ සාර්ථක ගැනුම්කරු විසින් පහත සඳහන් පරිදි මුදල් ගෙවීම් කළ යුතු ය.

01. ගැණුම් මිලෙන් 10%ක්,
02. පළාත් අධිකාරියේ බදු සඳහා පළාත් අධිකාරියට 1%ක්,
03. වෙන්දේසිකරුගේ කොමිස් වශයෙන් විකුණුම් මිලෙන් 2 1/2%ක්,
04 ලිපිකරු සහ නිවේදක ගාස්තු වශයෙන් රු. 500ක්,
05. විකුණුම් වියදම් සමග කොමිස් ගාස්තු වෙතොත් එම මුදල් ද,
06. විකුණුම් සහතිකය සඳහා මුද්දර ගාස්තු.

ගැණුම් මිලෙන් ඉතිරි 90% ක මුදල විකුණුම් දින සිට දින 30ක් ඇතුලත දී හයිලෙවල් පාර,නුගේගොඩ අංක 117ඒ හි මහජන බැංකු ප්‍රාදේශීය ප්‍රධාන කාර්යාලයේ (කොළඹ පිටත) ප්‍රාදේශීය කළමණාකරු වෙත ගෙවිය යුතු ය.

දුරකථන අංක : 2768018, 2812260.
ෆැක්ස් අංකය : 2817737.

හිමිකම් ඔප්පු සහ වෙනත් අදළ විස්තර ඉහත ලිපිනයෙන් ලබාගත හැක. ඉහත සඳහන් කරන ලද පරිදි සඳහන් මුදල් දින 30ක් ඇතුළත නොගෙවුවහොත් ගෙවා ඇති ගැනුම් මිලෙන් 10% ක මුදල ආපසු නොගෙවීමට හා නැවත දේපළ විකිණීමට බැංකුවට අයිතිය ඇත.

අර්වින් පෙරේරා,
(සාම විනිසුරු) වෙන්දේසිකරු හා තක්සේරුකරු,
උසාවි කොමසාරිස් හා දිවුරුම් ලත් භාෂා පරිවර්තක.

අංක 03,
පාගොඩ පාර,
නුගේගොඩ.
දුරකථන අංක : 011 - 2810145, 071- 8021206.

01-550

---

## ලංකා බැංකුව

### 1968 අංක 34 දරන පනතින් හා 1974 අංක 10 දරන නීතියෙන් සහ 2000 අංක 54 දරන පනතින් සංශෝධනය කරන ලද ලංකා බැංකු ආඥා පනතේ (397 අධිකාරය) 22 වැනි වගන්තිය යටතේ විකිණීම පිළිබඳ දැන්වීම

නුවරඑළිය, ලෝසන් වීදියේ, C1 කොටසෙහි, සිවාස් සංකීර්ණයෙහි සී/ස සිවාස් පුද්ගලික සමාගමෙහි වගකීම් වෙනුවෙන් උකස් කරන ලද වැල්ලවත්ත, 37 වැනි පටුමගෙහි අංක 58A හි පිහිටි දේපළ විකිණීම.

ලංකා බැංකු ආඥපනතේ 19 වැනි වගන්තිය යටතේ ලංකා බැංකුවේ අධ්‍යක්ෂ මණ්ඩලය විසින් සම්මත කරනු ලැබ ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ 2017 මාර්තු මස 31 දිනැති අංක 2013 දරන ගැසට් පත්‍රයේ හා 2017 මාර්තු 20 වැනි දින දිනමිණ, ඩේලිනිව්ස් හා තිනකරන් යන පුවත්පත් වල පළ කරන ලද නිවේදන වලට අනුකුලව මුල් ණය මුදල් වල ශේෂය ද, විකිණීම කෙරෙන දිනය තෙක්, ඒ මත අයවිය යුතු පොලිය ද, ලංකා බැංකු ආඥපනතේ අංක 26 වන වගන්තිය යටතේ අයකර ගත හැකි ගාස්තු හා මුදල් ද අයකර ගැනීම පිණිස මෙහි පහත උපලේඛනයේ විස්තර කොට ඇති දේපළ සහ පරිශ්‍ර පිහිටි ස්ථානයේදී ම 2018 පෙබරවාරි මස 28 වැනි දින පෙ.ව. 11.00 ට කොළඹ 05, හැව්ලොක් පාරේ, අංක 290 හි සී/ස ෂොක්මන් සහ සමරවික්‍රම සමාගම විසින් ප්‍රසිද්ධ වෙන්දේසියේ විකුණනු ලබන බව මෙයින් දන්වා සිටිමු.

### පළමු උපලේඛනය

බස්නාහිර පළාතේ, කොළඹ දිස්ත්‍රික්කයේ සහ මහ නගර සභාවේ තිඹිරිගස්යාය ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයේ, වැල්ලවත්ත දකුණ ග්‍රාම නිලධාරි කොට්ඨාසයේ, වැල්ලවත්ත කොට්ඨාසයෙහි වැල්ලවත්තෙහි පිහිටි 37 වන පටුමගෙහි වරිපනම් අංක 58 දරන ගොඩනැගිල්ල සමග සියලු ඉඩම් කැබලිවලින් ලොට් 10 ලෙස දක්වා ඇති දනට මුහන්දිරම්ස් ලෑන්ඩ් (වරිපනම් අංක 326/265, 317/247, 329/255 ආදිය දරන අංක 2 දරන ලියාපදිංචි පිඹුරෙහි ඒකාබද්ධ කරන ලද ලොට් 276, 276 F, 275, 278, 279, 282, 283, 288A, 288B, 291B, 298, 300 සහ 301 යන සියල්ලෙන් කොටසක් වන) නැමැති ඉඩමට, උතුරට : ලොට් 284 වන අඩි 30 පළල පෙන්කුවික් පාර ද, නැගෙනහිරට : ඩී. නොරිස් ප්‍රනාන්දුට අයත් වරිපනම් අංක 335/251 දරන ලොට් 11 සහ ලොට් 281 ද, දකුණට: ලොට් 281 වන අඩි 20 පළල පාරට වෙන් කළ කොටස ද (අනුඥත) සහ බස්නාහිරට : ලොට් 282 වන අඩි 20 පළල පාරට වෙන් කළ කොටස ද මායිම්ව බලයලත් මිනින්දෝරු ඒ. ආර්. සවුන්දරනායගම් විසින් සාදන ලද 1923.06.01 දිනැති අංක 1332 දරන පිඹුරට අනුව පර්චස් තිස්පහයි සියයෙන් දෙළොස් පංගුවක (අ. 0, රූ. 0, පර්. 35 12/100) බිම් ප්‍රමාණයකින් යුක්ත වේ.

ඉහත ඉඩම බලයලත් මිනින්දෝරු එස්. ලෝකනාදන් විසින් 1992.08.17 වැනි දින සාදන ලද අංක 4130 දරන සහාධිපත්‍යය පිඹුරට අනුව පහත ආකාරයට විස්තර කොට ඇත.

බස්නාහිර පළාතේ, කොළඹ දිස්ත්‍රික්කයේ සහ මහ නගර සභාව තුළ අංක 47 දරන වැල්ලවත්ත දකුණ කොටසෙහි, 37 වැනි පටුමගෙහි පිහිටි සහාධිපත්‍ය ගොඩනැගිල්ල බිම් මහලෙහි වරිපනම් අංක 58A, 58B, සහ 58C ද පළමු, දෙවන සහ තෙවන මහල්වල එක් එක් මහලෙහි නේවාසික ඒකක දහය (10)ක් බැගින් වරිපනම් අංක 58 1/1, 58 1/2, 58 1/3, 58 1/4, 58 1/5, 58 1/6. 58 1/7, 58 1/8, 58 1/9 සහ 58 1/10 (පළමු මහල මත) ද, 58 2/1, 58 2/2, 58 2/3, 58 2/4, 58 2/5, 58 2/6, 58 2/7, 58 2/8, 58 2/9 සහ 58 2/10 (දෙවන මහල මත) ද, 58 3/1. 58 3/2, 58 3/3, 58 3/4, 58 3/5, 58 3/6, 58 3/7, 58 3/8, 58 3/9 සහ 58 3/10 (තෙවන මහල මත) ද ඒකක 33 කින් සමන්විත A, B, C ලෙස දක්වා ඇති (බිම් මහල මත) 1, 2, 3, 4, 5, 6, 7. 8, 9, 10 (පළමු මහල මත) ද 1A, 2A, 3A, 4A, 5A, 6A, 7A, 8A, 9A, 10A (දෙවන මහල මත ) ද 1B, 2B, 3B, 4B, 5B, 6B, 7B, 8B, 9B, 10B (තෙවන මහල මත) ද ආදී වශයෙන් මහල් සතරකින් යුතු සහාධිපත්‍ය ගොඩැගිල්ල 17 වන වෙළුමෙහි 1 වන පත්‍රිරුවෙහි සහ 130 වන වෙළුමෙහි 7 වන පත්‍රිරුවෙහි ද නිරූපණය කර ඇති වැල්ලවත්ත අංක 2 දරන ලියාපදිංචි පිඹුරෙහි ලොට් 10හි නැවත මැනීමක් වන බලයලත් මිනින්දෝරු එස්. ලෝකනාදන් විසින් සාදන ලද 1992.08.17 දිනැති අංක 4130 දරන සහාධිපත්‍යය පිඹුරෙහි ලොට් 3151 ලෙස දක්වා ඇති ඉඩම් කැබැල්ල

එනම් එකී ලොට් 3151 උතුරට : 37 වන පටුමග ද, නැගෙනහිරට : ලොට් 11C A4 (පෞද්ගලික පාර) 37 වන පටුමගෙහි අංක 62/4 දරන ලොට් 11C A3 සහ 37 වන පටුමගෙහි වරිපනම් අංක 36/2A දරන ලොට් 1891 ද, දකුණට : 37 වන පටුමග ද, බස්නාහිරට : 37 වන පටුමග ද මායිම්ව එකී අංක 4130 දරන පිඹුරට අනුව පර්චස් තිස්පහයි දශම එකයි දෙකක (අ. 0, රූ. 0, පර්. 35.12) බිම් ප්‍රමාණයකින් යුක්ත වේ.

### දෙවන උපලේඛනය

සහාධිපත්‍ය දේපළෙහි පිහිටි සහාධිපත්‍ය ගොඩනැගිල්ලෙන් අංක 47 දරන වැල්ලවත්ත දකුණ 37 වන පටුමගෙහි නේවාසික තට්ටු නිවාසය අංක 58A (බිම් මහල) මෙහි පළමු උපලේඛනයෙහි වඩා පූර්ණ වශයෙන් විස්තර කෙරේ.

*පිහිටීම* : බලයලත් මිනින්දෝරු එස්. ලෝකනාදන් විසින් සාදන ලද 1992 අගෝස්තු මස 17 දිනැති අංක 4130 දරන සහාධිපත්‍ය පිඹුරෙහි නිරූපිත ගොඩනැගිල්ලෙහි බිම් මහල මත පිහිටා ඇති C ඒකකය,

*කාමර සංඛ්‍යාව* : නිදන කාමර පහයි, සාලය සහ කෑම කාමරය, ප්‍රවේශ ශාලාව, මුළුතැන්ගෙය, ගරාජය සහ වැසිකිළි සතර,

*සීමාවන් සහ බිමෙහි වර්ගඵලය* : වැල්ලවත්ත, 37 වැනි පටුමගේ අංක 58A දරන තට්ටු නිවාසයේ බිම් මහළෙහි C ඒකකය පහත පරිදි සීමාවන්ගෙන් යුක්ත වේ,

උතුරට : මෙම ඒකකය B ඒකකයෙන් CE 1 සහ CE 2 වලින් වෙන් කරන බිත්තියෙහි මධ්‍යයෙන් ද, නැගෙනහිරට : 37 වන පටුමගෙයි මෙම ඒකකය CE 1 සහ වරිපනම් අංක 62/4 සහ 36/2A වලින් වෙන් කෙරෙන බිත්තියෙන් ද, දකුණට : 37 වැනි පටුමගේ මෙම ඒකකය CE 1 සහ වරිපනම් අංක 36/2A වලින් වෙන් කෙරෙන බිත්තියෙන් ද, බස්නාහිරට : මෙම ඒකකය CE 1 වලින් වෙන් කෙරෙන බිත්තියෙන් ද, මුදුන : මෙම ඒකකය පළමු මහලෙහි ඒකක 6, 7 සහ 8න් වෙන් කෙරෙන කොන්ක්‍රීට් මහලෙහි මධ්‍යයෙන් ද, පහළම තැන : පසෙන්ද මායිම් වේ, බිමෙහි වර්ගඵලය : වර්ග අඩි එක්දහස් පන්සිය අනූවකි. (ව.අ. 1590) පොදු ප්‍රදේශයෙන් ප්‍රතිශතය (ඒකක C - 7.519%) කොළඹ ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයෙහි CON/SPE/14/91 හි ලියාපදිංචි කර ඇත.

### තෙවන උපලේඛනය

1. සහාධිපත්‍ය ගොඩනැගිල්ල පවත්නා මුළු ඉඩම වැල්ලවත්ත ලියාපදිංචි පිඹුරු අංක 2හි ලොට් 3151 ලෙස දක්වා ඇත.
2. කුළුණු, බාල්ක, බිම, බිත්ති, පරාල, වහල ආදිය.
3. පහලට දිවෙන පයිප්ප, කාණු, ප්‍රධාන ජල සැපයුම් සහ පයිප්ප ඉහළ සහ භූගත විදුලි රැහැන් සහ රැහැන් එළීම්, මනු පෙට්ටි සහ මුළු ඒකක 33හිම පදිංචිකරුවන්ගේ පහසුව තකා භාවිතයට ගනු ලබන ගොඩනැගිල්ලෙහි ඇති වෙනත් සවිකිරීම් සහ ස්ථානගත කිරීම්.

*නිශ්චිතව දක්වා ඇති පොදු මූලිකාංග* :

CE 1 බිම් මහලෙහි රථ ගාල, වාහන ඇතුළට එන ස්ථානය සහ ඉහළ මහල්වලට වාතාශ්‍රය සපයන ගොඩනැගිල්ල වටා ඇති විවෘත ප්‍රදේශය.

CE 2 මහල් සතරම පොදු භාවිතය සඳහා පිය ගැට පෙළ සහ කොරිඩෝ

CE 3 විදුලි සෝපානය සහ විදුලි සෝපාන ළිඳ

CE 4 බිම් මහලෙහි ඇති විවෘත අංගනයක් වන අතර අහසට විවෘතව ඇති ඉහළ මහල් තුන සඳහා වාතාශ්‍රය සපයන අඩු පීඩන වායු කලාපයක් ලෙස ක්‍රියා කරන්නකි

CE5 A ඒකකයේ භාවිතය සඳහා පමණ වූ බිම් මහලේ කොරිඩෝවකි.

ලංකා බැංකුවේ අධ්‍යක්ෂ මණ්ඩලයේ අණ පරිදි,

සම්බන්ධතා කළමනාකරු,
(අයකර ගැනීම් - ආයතනික).

ලංකා බැංකුව,
(අයකර ගැනීම් ආයතනික)
3 වන මහල,
අංක 1, ලංකා බැංකු මාවත,
කොළඹ 01.

01-588

---

## කොමර්ෂල් බැනක් ඔෆ් සිලොන් පී. එල්. සී. - අකුරුස්ස ශාඛාව

1990 අංක 4 දරන බැංකු මගින් ප්‍රදානය කරන ලද ණය අයකර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනතේ 4 වන වගන්තිය යටතේ කොමර්ෂල් බැන්ක් ඔෆ් සිලෝන් පී. එල්. සී. (ලියාපදිංචි අංක පී කිව්. 116) මගින් මා වෙත පවරා ඇති බලය ප්‍රකාර ප්‍රසිද්ධ වෙන්දේසියේ විකිණීම

### පළමුවන උපලේඛනය

දකුණු පළාතේ, ගාල්ල දිස්ත්‍රික්කයේ, ඉමදූව ප්‍රාදේශීය සභා සීමාව තුළ සහ ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයේ සහ මලල්ගොඩපිටිය 171 ග්‍රාම නිලධාරි වසමේ උතුරු තල්පේ පත්තුවේ මල්ලගොඩපිටිය හි පිහිටි වැව ආරච්චිගේ අද්දරදූව (ටී. පී. 226549) වැව, ආරච්චිගේ අද්දරදූව (ටී. පී. 226550), කිරිහාමිනේදූව (ටී. පී. 226551) සහ කිරිහාමනේදූව (ටී. පී. 226552) ඒකාබද්ධ කරන ලද ලොට් 1 හි ලොට් 2, 3 සහ 4 නමැති ඉඩමට බලයලත් මිනින්දෝරු ඒ. වීරසිංහ විසින් 2004 අප්‍රේල් මස 10 වැනි දින මැන සාදන ලද අංක 265 ඒ දරන පිඹුරේ ලොට් ඒ දරන

ප්‍රමාණය රූඩ් තුනයි පර්චස් පහයි දශම පහයි බිංදුව (අ. 0 රූ. 3 පර්. 5.50)

විශාල ඉඩම සහ ගොඩනැගිලි, ගසකොළ, වගාවන් සහ එහි පිහිටි සියලුදේත් සමග වේ.

දකුණු පළාතේ ගාල්ල දිස්ත්‍රික්කයේ ඉමදූව ප්‍රාදේශීය සභා සීමාව තුළ සහ ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයේ සහ මලල්ගොඩපිටිය 171 ග්‍රාම නිලධාරී වසමේ උතුරු තල්පේ පත්තුවේ මලල්ගොඩපිටිය හි පිහිටි වැව - ආරච්චිගේ අද්දරදූව (ටී. පී. 226549), වැව - ආරච්චිගේ අද්දරදූව (ටී. පී. 226550) කිරිහාමිනේදූව (ටී. පී. 226551) සහ කිරිහාමිනේදූව (ටී. පී. 226552) ඒකාබද්ධ කරන ලද ලොට් 1 හි ලොට් 2, 3 සහ 4 නමැති ඉඩමට බලයලත් මිනින්දෝරු A. වීරසිංහ විසින් 2004 අප්‍රේල් 10 වැනි දින මැන සාදන ලද අංක 265 A දරන පිඹුරේ ලොට් B දරන

ප්‍රමාණය රූඩ් දෙකයි පර්චස් විසි අටයි දශම දෙකයි පහ (අ. 0 රූ. 2 පර්. 28.25) විශාල ඉඩම සහ ගොඩනැගිලි, ගසකොළ, වගාවන් සහ එහි පිහිටි සියළු දේත් සමග වේ.

දකුණු පළාතේ ගාල්ල දිස්ත්‍රික්කයේ, ඉමදූව ප්‍රාදේශීය සභා සීමාව තුළ සහ ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයේ සහ මලල්ගොඩපිටිය 171 ග්‍රාම නිලධාරී වසමේ උතුරු තල්පේ පත්තුවේ මලල්ගොඩපිටිය හි පිහිටි මෙහි දෙවන උපලේඛනයේ සවිස්තරව විස්තර කොට ඇති සවිකරණ ලද යන්ත්‍රෝපකරණ (තේ කර්මාන්තශාලාව ''අද්දරදූව තේ කර්මාන්ත ශාලාව'' ලෙස හැඳින්වෙන අතර එහි සවිකරණ ලද මෙවලම් යන්ත්‍රෝපකරණ සහ යන්ත්‍ර සූත්‍ර සමග ඇතුළු සියළු දේත් සමග වේ.) වැව - ආරච්චිගේ අද්දරදූව (ටී. පී. 226549) වැව - ආරච්චිගේ අද්දරදූව (ටී. පී. 226550), කිරිහාමිනේදූව (ටී. පී. 226551) සහ කිරිහාමිනේදූව (ටී. පී. 226552) ඒකාබද්ධ කරන ලද ලොට් 1 හි ලොට් 2, 3 සහ 4 නමැති ඉඩමට බලයලත් මිනින්දෝරු A. වීරසිංහ විසින් 2004 අප්‍රේල් මස 10 වැනි දින මැන සාදන ලද අංක 265 A දරන පිඹුරේ ලොට් C දරන

ප්‍රමාණය රූඩ් එකයි පර්චස් තිස් හතයි දශම දෙකයි පහ (අ. 0 රූ. 1 පර්. 37.25) විශාල ඉඩම සමග ගසකොළ, වගාවන් සහ එහි පිහිටි සියලුදේත් සමග වේ.

දකුණු පළාතේ, ගාල්ල දිස්ත්‍රික්කයේ ඉමදූව ප්‍රාදේශීය සභා සීමාව තුළ සහ ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයේ සහ මලල්ගොඩපිටිය 171 ග්‍රාම නිලධාරී වසමේ උතුරු තල්පේ පත්තුවේ මලල්ගොඩපිටිය හි පිහිටි මෙහි දෙවන උපලේඛනයේ සවිස්තරව විස්තර කොට ඇති සවිකරණ ලද යන්ත්‍රෝපකරන (තේ කර්මාන්තශාලාව) ''අද්දරදූව තේ කර්මාන්ත ශාලාව'' ලෙස හැඳින්වෙන අතර එහි සවිකරණ ලද මෙවලම් යන්ත්‍රෝපකරණ සහ යන්ත්‍ර සූත්‍ර සමග ඇතුළු සියලු දේත් සමග වන) වැව - ආරච්චිගේ අද්දරදූව (ටී. පී. 226549), වැව - ආරච්චිගේ අද්දරදූව (ටී. පී. 226550), කිරිහාමිනේදූව (ටී. පී. 226551) සහ කිරිහාමනේදූව (ටී. පී. 226552) ඒකාබද්ධ කරන ලද ලොට් 1 හි ලොට් 2, 3 සහ 4 නමැති ඉඩමට බලයලත් මිනින්දෝරු A. වීරසිංහ විසින් 2004 අප්‍රේල් මස 10 වැනි දින මැන සාදන ලද අංක 265 A දරන පිඹුරේ ලොට් D දරන ප්‍රමාණය පර්චස් දෙකයි දශම හතයි පහ (අ. 0 රූ. 0 පර්. 2.75) විශාල ඉඩම සමග ගසකොළ, වගාවන් සහ එහි පිහිටි සියළු දේත් සමග වේ.

දෙවන උපලේඛනය

| *අංක* | *ඒකකය* | *විස්තරය* |
|---|---|---|
| 01. | 03 | විතරින් ට්‍රෆ් 83' x 6, 15 HP මෝටර් |
| 02. | 01 | විතරින් ට්‍රෆ් 50' x 6', 15 HP මෝටර් |
| 03. | 02 | 36 ''සිංගල් ඇක්ෂන්'' රෝලර් විත් 175Kgs කැපැසිටි CCC |
| 04. | 01 | 46" සිංගල් ඇක්ෂන් රෝලර් විත් 300 Kgs කැපැසිටි වෝකර්ස් |
| 05. | 01 | 44" සිංගල් ඇක්ෂන් රෝලර් විත් 250 Kgs කැපැසිටි වෝකර්ස් |
| 06. | 02 | රෝල් බ්‍රේකර්ස් |
| 07. | 01 | කන්වෙයර් සිස්ටම් |
| 08. | 01 | හියුමිඩිෆයර් ෆෑන් |
| 09. | 01 | ඩ්‍රයර් සීරෝක්කෝ 4 ' |
| 10. | 01 | ඩ්‍රයර CCC 4, |
| 11. | 07 | මිච් සිෆ්ටර් |
| 12. | 02 | මිඩ්ල්ටන් සිෆ්ටර් |
| 13. | 02 | විනෝවර් |
| 14. | 01 | කලර් සෝටර් එනි සෝර්ට් DCS - 500C (640) |
| 15. | 01 | කලර් සෝටර් ටයිමින් |
| 16. | 01 | කලර් සෝටර්, C 7500 W සෙන්වික් |
| 17. | 01 | 3 T මැෂින් |
| 18. | 01 | ජෙනරේටර් (100 kw) සීරියල් අංක H947673 එලිකියුප් SC344A |
| 19. | 01 | ෆයර්වුඩ් ස්ප්ලිටර් |
| 20. | 06 | ෆයිබර් මේට් |
| 21. | 01 | ඉලෙක්ට්‍රොනික් ස්කේල් විත් 250 kgs කැපැසිටි, ඒව්රි |
| 22. | 01 | ඉලෙක්ට්‍රොනික් ස්කේල් විත් 250 kgs කැපැසිටි, ඇකියුරල් WQ2 |
| 23. | 01 | මැකැනිකල් ස්කේල් |
| 24. | 01 | ස්කෲ එයාර් කම්ප්‍රෙසර් එයර් ඩ්‍රයර් ඇන්ඩ් ස්ටෝරේජ් |
| 25. | 01 | බ්‍රෝට් ලිෆ් එලිවේටර් |

කුමාර් හරේන්ද්‍ර හේවාකුරුප්පු ණයකරු ලෙස කොමර්ෂල් බැන්ක් ඔෆ් සිලෝන් පී. එල්. සී හට උකස් කරන ලද ඉහත සඳහන් කළ දේපල වර්ෂ 2018ක් වූ පෙබරවාරි මස 16 වැනි දින ප.ව. 1.00ට මා විසින් ඉහත ස්ථානයේ දී ප්‍රසිද්ධ වෙන්දේසියේ විකුණනු ලැබේ.

යෝජනා සම්මුතිය සඳහා 2017.07.28 වැනි දින රජයේ *ගැසට් පත්‍රය*, ලක්බිම ද අයිලන්ඩ් සහ වීරකේසරී පුවත්පත් ද බලන්න. විකිණීම පිළිබඳ දැන්වීම සඳහා 2018.01.19 වැනි දින *රජයේ ගැසට් පත්‍රය* ද, 2018.01.22 වැනි දින ලක්බිම, ද අයිලන්ඩ් සහ වීරකේසරී පුවත්පත් ද බලන්න.

*ඉඩමට පිවිසීම.* - ඉමදූව හංදියේ සිට ඉමදූව යක්කලමුල්ල පාරේ යක්කලමුල්ල දෙසට කි. මී. 1.5ක් පමණ ගමන් කර වමට හැරී මීටර් 400ක් පමණ ගියවිට අදළ දේපළ දකුණු පසින් පිහිටා ඇත.

